# 1931 අංක 19 දරණ
# විහාර දේවාලගම් පණත



අධිනීතිඥ
**මහානාම තිලකරත්න**
නීතිඥ
**පද්මික මහානාම තිලකරත්න**

# 1931 අංක 19 දරණ
# විහාර දේවාලගම් පණත

විහාරාධිපතිත්වය දේපළ සහ අනුප්‍රාප්තිය
(විනිශ්චිත නඩු තීන්දු ඇසුරින්)


අධිනීතිඥ
**මහානාම තිලකරත්න**
හිටපු මහාධිකරණ විනිශ්චයකාර
(වයඹ, බස්නාහිර, දකුණු පළාත් බද මහාධිකරණ)

**පද්මික මහානාම තිලකරත්න**
නීතිඥ (එල්. එල්. බී ගෞරව)





සමයවර්ධන
ප්‍රකාශනය
**සමයවර්ධන පොත්හල පෞද්ගලික සමාගම**
61, පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල නාහිමි මාවත,
(මාලිගාකන්ද පාර) මරදාන,
කොළඹ 10.

ප්‍රථම මුද්‍රණය : 2018

**1931 අංක 19 දරණ**

# විහාර දේවාලගම් පණත

විහාරාධිපතිත්වය දේපළ සහ අනුප්‍රාප්තිය
(විනිශ්චිත නඩු තීන්දු ඇසුරින්)

**මහානාම තිලකරත්න**
**පද්මික මහානාම තිලකරත්න**

ISBN 978-955-708-008-6

**ජාතික පුස්තකාල හා ප්‍රලේඛන සේවා මණ්ඩලයේ අනුමැතිය ලද ප්‍රකාශනගත සූචිකරණ දත්ත**

තිලකරත්න, මහානාම
1931 අංක 19 දරණ විහාර දේවාලගම් පනත : විහාරාධිපතිත්වය දේපළ සහ අනුප්‍රාප්තිය (විනිශ්චිත නඩු තීන්දු ඇසුරින්)/ මහානාම තිලකරත්න සහ පද්මික තිලකරත්න.-
කොළඹ : සමයවර්ධන, 2018
පි. 120; සෙමී. 21

ISMBN 978-955-708-008-6

i. 344.5493096 ඩිවි 23 ii. ග්‍රන්ථ නාමය
iii. තිලකරත්න, පද්මික මහානාම (සම කර්තෘ)

1. බුද්ධාගම - ශ්‍රී ලංකාව - නීති හා ව්‍යවස්ථා
2. බුද්ධාගම - ශ්‍රී ලංකාව

මුද්‍රණය

සමයවර්ධන මුද්‍රණශිල්පියෝ (පෞද්ගලික) සමාගම
53, පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල නාහිමි මාවත,
(මාලිගාකන්ද පාර), මරදාන,
කොළඹ 10.

# පෙර වදන

බෞද්ධ විහාරගම් දේපළ පණත තරම්, සුන්දර, හුරු බුහුටි වෙනත් පණතක් ඇත්දැයි සිතෙන තරමට මෙහි පැරණි බව, විදේශීය සුදු පාලකයින් පවා, බෞද්ධ උරුමයන් ආරක්ෂා කිරීමට ගෙන ඇති පියවර ආදිය ගැන සිතීමේදී පැහැදිලි වෙයි.

උඩරට ගිවිසුම බුද්ධාගම ගැන කෙටියෙන් සඳහන් කළත්, බලාපොරොත්තු ඉටු නොවීම තුළින් භික්ෂූන් සහ ප්‍රධානීන් කලකිරීමට පත්ව ඇත. නමුත්, බෞද්ධාගම ආගමක්ද, දර්ශනයක්ද, ඒ දෙකම ද යන කරුණ සුදු ජාතිකයන්ට ප්‍රශ්නයක් නොවීය. පන්සල් සතු විශාල ඉඩ කඩම්, කුඹුරු සහ වෙනත් චංචල, නිශ්චල දේපළ සඳහා වෙනම නීති තිබිය යුතු යැයි ඔවුන් අවබෝධ කොට ගෙන ඇත.

පොත කුඩා වුවද, සිංහල භාෂාවෙන් විෂය පිළිබඳව ලියැවුණු පොත් සහ අදාළ නඩු තීන්දුවල මඳ බව වැදගත් සේ දැනුණි. නීතිය නොදැනීම නිදහසට කරුණක් නොවේ යැයි කීවත්, නොදැනීමෙන් සිදුවන පාඩු, අලාභ, අපකීර්තිය තමන්ම විඳ දරා ගත යුතුය.

පණතේ මුල් අවස්ථාවන් කෙටි ආකාරයට සකස්ව තිබුණි. නමුත් කාලීන අවශ්‍යතා මත නීති වෙනස් වීම, ක්ෂේත්‍රය කුමක් වුවද සාමාන්‍ය දෙයකි.

සුදු විනිසුරුවරු, මහත් වෙහෙසක් දරමින් පණතේ විස්තර මඳ බව නිසා, නඩු තීන්දු දී ඇති අතර, ගැටලු සහගත දේ තවමත් නිවැරදි වූ බව පෙනෙන එක් අංශයක් වනුයේ, කාලාවරෝධී පණතේ විධි විධානවල අදළත්වයයි.

පවත්නා නඩු තීන්දු ද ඒක මතික බවක් නොපෙන්නුවද, 34 වන වගන්තියේ හරය ගැන බලද්දී, ප්‍රමාණවත් අරුත් ලැබී ඇති බැව් පෙනේ.

දේපළ පිළිබඳව පමණක් නොව, දේපළවල හිමිකමට පවා මේ කාලාවරෝධය බල නොපවත්වන බව කියැවෙන විට, විහාරාධිපතිත්වය නමැති තනතුරට දේපළ හිමිකම බලපාන බව පැහැදිලිය.

නමුත් කිසිවෙකු විහාරාධිපතිත්වය මිස දේපළ හිමිකම් නොඉල්ලන විට, තත්වය වෙනස්ය. විහාරාධිපති, භාරකරු හෝ පාලක විහාරාධිපති වේවා, තනතුර සහ දේපළ තනතුරුවලින් ඉවත් කළ නොහැක.

එසේම සාංඝික දේපළ, පුද්ගලික සහ උපයාගත් දේපළ, උරුම දේපළ පිළිබඳ ප්‍රභේදයන් වැදගත්ය.

මේ සියල්ල සඳහා පැහැදිලි සාක්ෂි තිබිය යුතුය. එසේම ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා නීතිය. සිවුරු පරම්පරා නීතියට වඩා ප්‍රචලිතය. ක්‍රියාත්මකය.

ඔප්පු කිරීමේ භාරයද අනෙක් සිවිල් හෝ අපරාධ නීතිවලට වඩා වෙනස්ය. පූර්ව නිගමන බිඳ හෙළීමට අපොහොසත් වීම ගැන අටමස්ථාන නඩුවේදී කරුණු හෙළි වී තිබේ.

පන්සලකට දේපළ තිබිය යුතුද යනු ප්‍රශ්නයක් නොවේ. ඉතා බලවත්, විටිනා දේපළ ඇති පන්සල් මෙන්ම, දන් වේලක් දීමට හෝ වත් පොහොසත් කම් නැති සැදැහැතියන් දුර බැහැර පන්සල් ආශ්‍රිතව ඇති බව නොරහසකි; ඒ දුප්පත් පන්සල්ය.

ඉතා දිග හැල්ලක් හැඳින්වීමෙහි තිබේ. ඒ පෞද්ගලික මත මිස පොදු මතය නොවේ. එසේ කරුණු දැක්වූයේ බෞද්ධයින් අතර පටු ආකල්ප, දුර නොදැකීම වැනි දුර්වලතා රජයද්දී පන්සල් නිසා ආගම රැකේ යැයි කිසිවෙකු කියනු ඇසෙන බැවිනි.

ඉන්දියාවෙන් ලැබුණු බුදුදහම තරම්, සරල දිවි පැවැත්මක් අගය කරන, අනුමත කරන වෙනත් ආගමක් හෝ දර්ශනයක් ඇතැයි සිතිය නොහැක. සරල බව නිහතමානීත්වයේ ලක්ෂණයකි.

පැවිදි බව, ප්‍රව්‍රජ්ජාව, ගිහිගෙය අතහැර යාමෙන් ලබා ගත හැකි සරල දිවි පෙවෙතකි. ස්ථිර නිවසක්, ජීවන මාර්ගයක් නොමැති, ඒකාකාරී වස්ත්‍රයකින් කය වසාගෙන, හිසකෙස් බූගා, අනුන් දෙන කෑම වේලකින් කුස පුරවා ගනු ලබන්නේ, ජීවිතය ගෙනයාමට කෑම ටිකක් අවශ්‍ය බැවිනි.

මුල් විනයට අනුව ත්‍රිචීවරය සහ පිඬු සිඟා වළඳන පාත්‍රය පමණක් ඒකායන වස්තුව විය. වැසි කාලයට ජීවත් වීමට තිබූ පැල්පත් මැටියෙන් තනන ලදී. ඒ තැන් මාලිගා, ගොඩනැගිලිවලට අධිකාලම වූ අතර, රාජ අනුග්‍රහය නිසා, ප්‍රදේශයක ආධිපත්‍යය ඉසිලීමට තරම් නිවැසියන් ්ලවත් වී ඇත.

මුල් වරට බිම්බිසාර රජු බුදුන් වහන්සේට වේළුවන උයන පූජා කළේය. බුදුන් ප්‍රමුඛ සියලු සංඝයාට දෙන දීමනාව සාංඝික විය. ශ්‍රී ලංකාවේ රජ කෙනෙකු විසින් ශාසනයට දෙන ලද මුල් දීමනාව දේවානම් පියතිස්ස රජු විසින් කරන ලදී. ඒ මහමෙවුනා උයනයි. (ක්‍රි.පූ. 247-207)

අණේපිඬු සිටුවරයා ජේතවනය, ජේත කුමරුගෙන් මිලට ගත්තේ මුළු ඉඩමේ රන් කහවනු අතුරා, ඒ වටිනාකමට බැව් කියැවේ.

තුලත්ථන රජු (ක්‍රි.පූ. 59) ඉඩමක් සංඝයාට පූජා කොට ඇත. 1 වැනි අග්ගබෝධි රජු පොල් වගාවක් පූජා කළ අතර 111 වැනි මොග්ගොල්ලාන ලුණු ලේවා තුන් සියයක් දී ඇත. ලජ්ජිතිස්ස (ක්‍රි.පූ. 119-109) වාරි මාර්ගයක් පූජා කළේය. කුඹුරු ඉඩම් පූජා කළ බවට ද ශිලා ලේඛන ශාක්ෂි දරයි.

සඟ සතු, පුද්ගලයා සතු යන දෙවැරුමද ක්‍රමයෙන් ඇතිවිය. විහාර දේපළ පාලනය කිරීමට ස්ත්‍රී පුරුෂ දෙපක්ෂය ද යොදවා ඇත. මේ ආකාරයෙන් බලද්දී ඒ ඒ ආයතන සතු දේපළ, චංචල, නිශ්චල වේවා, සමාජයේ මුල් බැසගත්, ඈත ඉතිහාසයක් ඇති, රාජ අනුග්‍රහය ලද ආයතන බවට පත්ව තිබේ.

ප්‍රසිද්ධියට දෙනු ලබන දීමනාද, පින් අපේක්ෂාවෙන් දෙන දීමනාද ඇත. විනය නීති රීති කුමක් කීවත්, අද නොසෙල්විය හැකි මහාමේරුවක් ලෙස මේවා ස්ථාපිත වී තිබේ. නීති ගත වී ඇති නඩු තීන්දු හා අණ පණත්වලින් හඳුනාගෙන තහවුරු කොට තිබේ

ඒ අනුව, ඉදිරියට විහාර, දේපළ පන්සල්, කෝවිල් දේවාල ආදියද ඒවායේ ප්‍රධානත්වයට පත්වන ආකාරයද සරලව දැක්වීමෙන්, උසාවි මට්ටමෙන් මෙපිට, ශාසනයේ පැවැත්ම, ගරුත්වය සුරැකෙන පරිදි කටයුතු කිරීමට අදාළ අංශවලට හැකි වේනම් මෙහි අරමුණ ඉටු වනු ඇත.

දේපළ ලබා ගැනීමට, පවත්වා ගෙන යාමට, රැක ගැනීමට පුද්ගලයෙකුට අයිතියක් ඇත. එය ගිහි, සඟ යන වෙනසකට හේතු නොවේ. එකම හේතුව, ගිහි සැප අතහරින අය මෙසේ භෞතික වස්තුව රැස් කරන්නේ ඇයි දැයි ප්‍රශ්න කරන හෙයිනි. නමුත් නීතියට ඒ වෙනස නොපෙනෙයි.

මේ නීති ඇසින් බලන ප්‍රශ්නයක් නිසාය. එදා අද වෙනස, නුවර යුගය වන විට ශාසන පරිහානියට නිදසුනකි. අද ගණින්නාන්සේලා නැත.

මේ වෑයම, හුදෙක් විහාර දේපළ පිළිබඳ ආරවුල්වලට මැදිවන අයට සරලව විෂය අවබෝධ කර ගත හැකි පරිදි කරණු දැක්වීම වෙයි.

මෙහිදී සහාය දැක්වූ පුතුන් තිදෙනාට සහ බිරිඳට - වජිර, පද්මික චාමර සහ පද්මිණී ද, පොත පත ලබාදුන් නීතිඥ නයනී දුවද නීතිඥ පද්මික පුතාද ආදරයෙන් සිහිපත් කරමි. පද්මික සහාය කතුවරයාය.

කවදත් අපට සහාය වන සමයවර්ධන පොත් මුද්‍රණාල අධිපති වීරමන් මහතාටද, කාර්‍ය මණ්ඩලයටද තුති පුදමි.

මහානාම තිලකරත්න
2018 මැයි 30

# හැඳින්වීම

වත්මනෙහි, ගෞතම බුදුන් වහන්සේ විසින් දේශනා කරන ලදැයි විශ්වාසයක් ඇතිව, සාමාන්‍ය පුද්ගලයින් හඳුන්වන පරිදි ශ්‍රී ලාංකිකයින් අදහන ආගම "බුද්ධාගමයි".

බුද්ධත්වයට පත් වූ අවස්ථාවේ බුදුන් වහන්සේ, තමන් පත්වූ තත්වය පිළිබඳව කොතෙක් පුදුමයට පත්වන්නට ඇද්ද? ඒ තත්වය අදහාගත නොහැකිව, කිසිවෙකුට එම දහම අවබෝධ කොට ගත නොහැකි යැයි සිතමින් සිටිද්දී කිසිවෙකුගේ පෙළඹවීමකින් දහම සෙසු අයට දේශනා කිරීමට අදිටන් කළේ යැයි පොත පතෙහි දක්වේ.

ධම්ම චක්ක පවත්වන සූත්‍රයෙහි සත්‍ය සතර අවසානයෙහි මෙසේ දක්වෙයි.

"ඉදං දුක්ඛං අරියසච්චන්ති මෙ භික්ඛවෙ පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු, චක්ඛුං උදපාදි ඤාණං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, ආලොකො උදපාදි...."

බුදුන් වහන්සේ කොතෙකුත් ප්‍රමාණ කළ නොහැකි පිබිදුණු තත්වයට පත් වූයේද? ඇස්වලින් නිසි දැක්මද, ඥානය පෙරදැරි වීමද, ප්‍රඥාව පහළ වීමද, අවිද්‍යාවෙන් බැහැරවූ දැනීම පහළ වූයේද, ආලෝකය ඇති වූයේ දැයි තමන් වහන්සේගේ අවබෝධය පිළිබඳව පස්වග මහණුන්ට දම් දෙසූ සේක් ද?

ධම්ම චක්කය, ඒ මහණුන්ට අවබෝධ කොට ගෙන සත්‍යය දැන ගැනීමට එක් වරම හැකි වූයේ නැත. ඒ නිසාම අනාත්ම ලක්ෂණ සූත්‍රය කරුණු ලිහිල් වූ ආකාරයෙන් දේශනා කරන ලද බව කියැවේ.

බුද්ධ ධම්යේ ගැඹුර තේරුම් ගැනීමට එහි කර්තෘවරයාට එතරම් දුෂ්කර වූයේ නම් අප ගැන කියනු කවරේද?

අද බුද්ධ ධම්ය "බුදධාගම" වී හමාරය. එය අදහන ආගමකි. භක්තිය, විශ්වාසය, පුද පූජා ප්‍රාර්ථනා මගින් සියලු දේ ලබා දෙන

යානයක් වී ඇත. මිථ්‍යාව විද්‍යාවේ තැන ගෙන ඇත. සියලුම දේශකයන් වහන්සේලා පවා, දේශනාව අවසානයෙහි චතුරාර්‍ය්‍ය සත්‍යය අවබෝධ වේවායි "මෛත්‍රී බුදුරදුන්ගේ ශාසනයෙහි දී නිවන් සුව අත් වේවායි" කියන්නේ ගිරවුන් ලෙස දේශනාවට සවන් යොමු කොට සිටි උපාසක උපාසිකාවන්ටය.

සත්‍යය, බුදුන් වහන්සේගේ දහමෙහි මුල, මැද, අග ආදී සියලු තන්හි ඇත. නමුත් ඒ පිළිබඳව සැබෑ අවබෝධයක්, යථාර්ථයක් හැටියට ඒත්තු ගැන්වීමට එවැනි ප්‍රාර්ථනා ප්‍රමාණවත් නොවේ.

උපතක් සිවු ආකාරයකින් සිදු වන බව කියැවෙයි. මුළු ජීවිතයම අඳුරේ සිටින අය, නැවත මාස 09ක් මව්කුස ඝන අඳුරේ මෙලොව දැකීමට වලිකද්දී, ඇතිත්තක කුසෙහි උපත ලැබීමට සිටින පැටවා කොතරම් අඳුරක සිටින්නේද? බිත්තරය තුළ පැටවකු සිටී නම්, තෙලෙන් බැදෙන බිත්තරය කිසිදාක කුකුළු පැටවකු බිහි නොකරනු ඇත. සත්‍යය මෙයයි. එය කොතරම් බියකරුද? ගැලවීම වෙනුවට තව තැවීමට ලක් වීමට මුළු වටපිටාවම සකස්ව ඇත.

කෙසේ හෝ වේවා මොහොතින් මොහොත අඳුරට යන සමාජයකට ගැලපෙන ඖෂධ ඇතත් ලැබෙන්නේ කටුක තිත්ත බෙහෙත්මය. ඒවායේ නීරස බව නොදන්නවා නොවේ. අප විසින් අපව රවටා ගනු ලැබීම අද ඊයේ සිදුවූවක් නොවේ. ජාතියක මූලාරම්භය සිදුවූ පුවතේ පටන් සියලු සිද්ධීන් බෙහෝ දුරට මනඃකල්පිතය. විශ්වවිද්‍යාලයක ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය වරයෙකු "සිදුහත් කුමරු මාස 13 මව් කුස වැඩුණු නිසා, උපතේදීම ඇවිදීමට හැකි වූයේ යැයි දේශනා කරන විට, විද්‍යාත්මකව ඒ කාලසීමාව මාස 09 කට (දින 280) සීමා කරද්දීත්, දේශනාව එලෙසම කරගෙන යාම හාස්‍යයක් නොවේද?

මහාචාර්ය සෝමදේව, කල්තොට ගල්ගුහා ආශ්‍රිත ලිපිවල අරුත් වියත් ලෙස දක්වද්දී, ධාන්‍ය වර්ගයක් ආහාරයට ගත් ජනතාවක් ඒ ගුහාවල විසූ බව ශිලාලේඛනවල අකුරින් තහවුරු කරද්දී, අවුරුදු 2600 ක ඉතිහාසය තවම ඉබි ගමනේ නොවේද?

හේතුව සරලය. ගල්වල අකුරු කෙටීමට යකඩ මෙහි නොතිබුණේ යැයි කියද්දී, අවුරුදු 4000 ට එපිටදී ඇඟිල්ලෙන් හෝ ඇන අඳත් දැකිය හැකි, කියවිය හැකි ශිලා අකුරු අපට ප්‍රතික්ෂේප කළ හැකිද? ඇලෙක්සෙන්ඩර් රජුගේ ආයුධ ලංකා යකඩවලින් තැනූ බවද කියැවේ.

බුදුන් වහන්සේගේ ලංකා ගමන ගැන ඊටත් අපූරු කථා ගෙතී ඇත. මීට සති 03 ට පමණ පෙර, කොළඹින් සැතපුම් 50 ක් පමණ දුරින් පදිංචි ඇය, හොඳම භාවනා පංතියකට සහභාගී වීමට පැමිණ ඇත. ඊළඟට කවුරුන් හෝ ලියූ පොතකට අනුව බුදුන් වහන්සේ උපත ලද්දේ ලංකාවේ බවත්, පැමිණීමක් සිදු නොවූ බවත් පැවසූ ඇය ඒ ගැන මගේ අදහස් විමසුවාය.

මම පුදුමයට පත් වීමි. තරමක කේන්තියක්ද ඇති විය. ඇය තරමක මානසික රෝගී තත්වයකට පත්ව සිටියාය. ගිජ්ජකූට පර්වතය ශ්‍රී පාද කන්ද හෝ මුල් කිරිගල නොවන බව කීවෙමි. තෙවරක් බුදුන් වහන්සේ ලංකාවට වැඩම කළේ බොරුවක් දැයි ඇසුවෙමි. හොඳම භාවනාව, සිත එක තැනක රඳවා ගැනීමට උත්සාහ කරන ලෙස දැන්වීමි. හොඳ ඔළුවක්, සමාජ තත්වයත් ඇති ඇය ආගමේ නාමයෙන් පිස්සු ගැහැනියක වී ඇත.

## ගෞතම බුදුන් උපන්නේ ලංකාවේද? ඉන්දියාවේද?

ඉහත දැක්වූ මානසික රෝගීන් සිටින සමාජයක මේ ප්‍රශ්නයට පිළිතුරු සැපයීම අසීරු කරුණකි. ඇය කී එක් කරුණක් වූයේ ලංකාව හා ඉන්දියාව එක්තරා වකවානුවක එකම රටක් ලෙස පැවතීම නිසා, එවැනි තර්කයක් ගොඩනැගිය හැකි බවයි.

කෙසේ වෙතත් ලංකාව කවදත් දූපතක් වූවා මිස, මහාද්වීපයක් වූයේ නැත. ඉන්දියාවට උතුරින් සම්බන්ධ වූයේ මුහුදේ නොගැඹුරු පෙදෙස්වලින් මිස, ඉංදියාවේ කොටසක් වන පරිදි නොවේ. රටවල් දෙකක් මිස කිසිදාක එක රටක් ලෙස හැඳින්වීමක්ද නොවීය.

අනෙක් අතට මේ අවුරුදු 2500 ක් පමණ පැරණි ඉතිහාසයක් තුළ වූ සිද්ධියකි. ලෝකයේ අවුරුදු දස දහස් ගණන් කාල වකවානු අලලා ඉතිහාසය ලියද්දී, අවුරුදු 2500 කාලය කෝඳුරු තෙල් කඳුලක කථාව තරම් සුළු නොවන්නේද?

දැන් ඓතිහාසික කරුණු ගැන යොමු විය හැකිය. මුලින්ම, ප්‍රධාන කරුණු කෙසේ වෙතත් බුදුන් වහන්සේගේ උපත පිළිබඳව වූ දින වකවානු ද වෙනස්ය. කිසිවෙකු එදා නොසිටි නිසා ශිලා ලිපි, ග්‍රන්ථ ආශ්‍රිත තොරතුරු මත යැපීම ස්වාභාවික ය. මුලින්ම 1993 මුද්‍රණය වූ එඩ්වර්ඩ් ජේ. තෝමස්ගේ **'The Life of Buddha'** ග්‍රන්ථයේ

දෙවැනි පරිච්ඡේදයෙහි බුදුන්ගේ Home and Family, 16 වැනි පිටුවේ මේ ගැන දීර්ඝ විස්තරයක් ඇත.

"බුද්ධ දේශනාවන්හි නිතරම 'කපිලවස්තු පුරය' ගැන කියැවෙයි. නමුත් බරණැස වෙසාලි ආදී නගර මෙන් භූගෝලීය වශයෙන් කපිලවස්තුව හඳුනා ගත නොහැක. අපේ මේ ගැන දැනීම රැඳී ඇත්තේ රචිත අටුවා සහ ඒ මත සකස් වූ පොත පතෙහිය. ෆාහියන් භික්ෂුව, හියුං සැං සංචාරක විස්තර සහ නූතන පුරාවිද්‍යාත්මක ගවේෂණ ද ඊට ඉවහල් වෙයි"

කණිංහැම් පුරා විද්‍යාඥයා සහේත් මහේත් ප්‍රදේශ සැවැත් නුවර ලෙස හඳුනා ගත්තේය. ඊට ඊසාන දෙසින් කපිලවස්තු නගරය සොයා ගැනුණි. එහෙත් චීන සාමාජිකයෝ සහේත් මහේතවලට ගිනිකොන දෙසින් කපිලවස්තුව හඳුනාගති. 1895 දී, නිගාල් සාගර් නම්, නේපාලයේ නිග්ලිවා ගමේ විශාල වැවක් ආශ්‍රිතව මාගධී භාෂාවෙන් ලියූ පුවරු ලිපියක් සම්භ විය. ඒ අනුව, පියදසී රජු (අශෝක සෙල්ලිපිවල හඳුන්වා ඇති පරිදි) කෝණාගම බුදුන් වෙනුවෙන් වූ ස්තූපයක් විශාල කරවිය. රාජාභිෂේකයෙන් අවුරුදු 20 ට පසු එය වැඳපුදා ගැනීමට පැමිණ ඇත. මෙ ස්තූපය පාහියන් විසින් දක ඇත. එහෙත් එම කණුව (ටැඹ) විනාශ වී ගොස්ය. ස්තූප කොටස් නොතිබුණි.

මේ අනුව සැබෑ ස්ථානය පිළිබඳව ගැටලුකාරී තත්වයක් ඇතත්, ලංකාවට වඩා උසකින්, ඉදිරියෙන් පුරා විද්‍යාත්මකව ඉන්දියාව සිටින නිසා, ලංකාවේ උපත මිථ්‍යාවකි; ඉතිහාසය කණපිට පෙරළීමකි. නේපාලය, ලුම්බිණිය රාමේෂ්වරමට හෝ කිට්ටුවෙන් පිහිටා ඇත. ඊළඟට, රාජාවලිය - (ඒ.වී. සුරවීර 1976 මුද්‍රණය) කපිලවස්තුව ගැන දීර්ඝ විස්තරයක් එහි දෙවැනි කොටසේ දක්වයි. (පිටුව 152 සිට)

"....... තෘතිය ඔක්කාක රජුට සොභාවතී අග මෙහෙසිය වූ අතර, හස්තපාලා නම් බිසව පුතුන් හතර දෙනෙකු හා දියණියන් පස් දෙනෙකු වැදුවාය. වෙනත් ගැහැනියක බිසව කර ගත් අතර ජන්න නම් පුතුද ඇයට උපනි. වැඩි මහලු වෙද්දී, ඇය ඒ දරුවාට රජකම දෙන ලෙස වරයක් ඉල්ලා ඇත. පුතුන් හතර දෙනා සහ දූවරුන් පස් දෙනා පිරිවර සමග වල් වැදී, නගරයක් සඳහා සුදුසු තැනක් සොයද්දී කපිල තවුසා, තම අරම ප්‍රදේශය ඔවුන්ට දී තිබේ. සහෝදර, සහෝදරියන් අඹු සැමියන් වූ අතර, "....... මේ මහා සම්මත

රජු පටන් සුදොවුන් රජුට සත් ලක්‍ෂ සත්දහස් සත්සිය සත් අනූවක් රජවරු රාජ්‍යය කළහ...... සුද්ධෝදන රජුගේ එක කුස උපන් මල් වූ අමිතෝදනය ධොතොදනයි දත යුතුය......"

කෙසේ වෙතත් ගණන් හිලව්වල බලවත් අතිශයෝක්තියක් ඇත. එහෙත් මේ කපිලවස්තුපුර විස්තරය පෙර දැක්වූ එඩ්වර්ඩ් ජේ. තෝමස්ගේ පොතෙහිද කෙටියෙන් ඇත.

කපිල වස්තු පුරය ගැන ඉන්දීය පුරා විද්‍යාවේ ඉතිහාසය - දිලීප් චක්‍රභාර්ති ග්‍රන්ථයෙන්ද විස්තර දක්වෙයි. එය සිංහලට පරිවර්තනය කරන ලද්දේ ආචාර්ය ඩී.එල්. අබේවර්ධනයන් විසින් 2001 දීය.

ඇලෙක්සැන්ඩර් කණිංහැම්ගේ ගවේෂණ ආශ්‍රිතව ලියැවුණු වාර්තාවන් හියුංසැංගේ විස්තර මත තහවුරු කරන ලද්දේ ඔහු විසිනි.

මේ ග්‍රන්ථයේ 117 පිටුවෙහි බුදුන් වහන්සේගේ පරිනිර්වාණය සිදුවූ කාලය දක්වා තිබේ. එසේම "කණිංහැම් සිය සංචාරය ආරම්භ කළේ යැයි පෙනෙන ගයා නගරයේ, ප්‍රසිද්ධ විහාරවල පළල් චරිතාංග හැරුණ විට වෙනත් සඳහන් කළ යුතු යමක් නොවීය. (වර්තමාන විහාර බොහොමයක් පැරණි භූමි මතම, පැරණි ද්‍රව්‍ය භාවිත කරමින් ඉදිකර ඇත) මෙහිදී ඔහු පිළිම කීපයක් හා වැදගත් බවක් ඇති සෙල්ලිපි අවම වශයෙන් එකක් 1819 වර්ෂයේ එනම් බුදුරදුන්ගේ පරිනිර්වාණය සිදුවූ වර්ෂයේ කොටන ලද්දකි. (කාර්තිකයේ අවසඳෙහි මුල් දිනය වූ බදාදා) සොයා ගෙන ඇති අතර සූක්ෂම ගණන් බැලීමකින් පසුව බුදුන්ගේ පරිනිර්වාණය ක්‍රි.පූ. 477 දී සිදු වූවක් ලෙස තහවුරු කිරීමට ඔහුට මෙය උපකාරී විය. බෝධිගයා හෙවත් බුද්ධගයාහිදී නූතන විශාල විහාරය ක්‍රි.ව. 500 දී පමණ අමරසිම්හ විසින් ගොඩනැගූ බවත්, ක්‍රි:ව 7 වන සිය වසේදී හියුං සැං විසින් දකින ලද්දේ මෙම විහාරය බවත්, යන්තෙන් සැහීමකට පත්විය....."

The Life of Buddha, ග්‍රන්ථයෙහි 37 වැනි පිටුවෙහි ගෞතම බුදුරදුන්ගේ උපන් දිනය ක්‍රි.පූ. 563 ලෙස දක්වෙයි. එහෙත් වයස අවුරුදු 80 ක් වී යැයි යන පදනම මත මේ දිනය සඳහන්ය. අශෝක රජුගේ අභිෂේකය බුද්ධ පරිනිර්වාණයෙන් අවුරුදු 218 පසුව සිදු වී යැයි ද චන්ද්‍රගුප්ත ක්‍රි.පූ. 323 දී රාජ ප්‍රාප්තියට පත් වූයේ නම් මේ උපන් දිනය ක්‍රි.පූ. 483 විය යුතුය.

කෙසේ වෙතත් ටිබෙටයේ මීට වෙනස් දින දක්වා ඇති අතර සියලු දේ මැයි මස පුන් පොහෝදා සිදු වී යැයි යන මතය ස්ථිරවම නිවැරදි යැයි දැක්විය නොහැක.

තව දුරටත්, එහි 158 පිටුවේ මෙසේ දැක්වෙයි. "Hiuen Tsiang also gives this date as the general tradition, but says that the Sarvastivadings give the day of Buddha's death as on the eight of the last half of the month of Kartika (Oct. Nov) i.e. a week before full moon in this month. This cannot be made to fit the Sutta, as it implies less than three months, but it is the date which Fleet has tried to establish as historical, and which he made 13 Oct. 483 B.C."

පුදුම එලවනසුලු ව්‍යායාමයක් මේ සඳහා උගතුන් ගෙන ඇද්ද? ඒත්, සිහින ලොවක සිට නොවේ. ඍද්ධි බලයෙන් ලද ඥානයෙන්ද නොවේ. යම් කරුණු මත තර්කයක් ගොඩනැගීමෙන් කෙනෙකුට ඒවායෙහි සත්‍යතාව සෙවිය හැකිය.

මිනිසුන් රැවටීම පාපයකි. තවද, බුදුන් මේ දිවයිනට පැමිණි දින, කාල වකවානු ගැටළු සහගත බව රාජාවලිය කියයි. (50 පිටුව)

මහාවංශය, පූජාවලිය, රාජාවලී වර්තා අතර සමාන කම් මෙන්ම වෙනස්කම්ද පෙනේ. ඒ මෙසේයි.

ප්‍රථමාගමනය; මහාවංශය සහ පූජාවලියඃ බුද්ධත්වයෙන් නව වන මස දුරුතු පුර පසළොස්වක දින රාජාවලිය; නව වන මස පිරීගිය දුරුතු මස පුර ගුරු දින පුසේ නැකතින් පොහෝ දින

ද්විතියාගමනය; මහාවංශය; බුදධත්වයෙන් පස්වන වර්ෂයේ චිත්‍ර මාසයේ අව උපෝසථ දිනයේ පූජාවලිය; බුදුවූ පස්වන අවුරුදු අග අව පසළොස්වක් දින.

රාජාවලියඃ බුදු වූ සවැනි අවුරුදු වෙසඟ පුර පසළොස්වක දින.

තෘතියාගමනයඃ මහාවංශය; බුද්ධත්වයෙන් අටවැනි අවුරුද්දෙහි වෙසක් මාසයේ දෙවැනි දින; පූජාවලිය බුදු වූ අටවැනි අවුරුද්දෙහි රාජාවලිය, බුදුවූ නවවැනි අවුරුදු පිරීගිය විට ඇසල මස පුර පසළොස්වක දින උත්‍රසලේ නැකතින්.

## තනතුරු, දේපළ, විහාර මන්දිර අකැප වූයේද?

පළමු සංගායනාවේදී විනය පිළිබඳව මුලින් සාකච්ඡා කළේ ශාසනයේ තිර පැවැත්මට විනය අවශ්‍ය වූ බැවිනි. බුදුරදුන් දවසද තනතුරු දරූ රහතන් වහන්සේලා පවා සිටි බව කියැවෙයි. සීමා බාධක ඉක්මවා ගිය භික්ෂූන්ට දඬුවම් පමුණුවන ලදී. බුද්ධ වචනය ඉක්මවා ගිය භික්ෂූන්ද සිටි බව කියැවෙයි.

මෙරට තනතුරු, දේපළ ආදිය, භික්ෂූන්ට හිමිවන ආකාරය පාර්ලිමේන්තු පණත් මගින් විග්‍රහ කෙරේ. ඒවා දේශනාවන්හි සඳහන් කරුණුවලට අනුකූලය. පරමාර්ථ කෙසේ වෙතත්, භික්ෂුවක් වූ පමණින් මෙලොව සියලු සැප සම්පත් අතහැරීමක් සිදු නොවේ. බොහෝ විට අතහැරීම අදාළ වන්නේ ගිහියන්ටය.

මිහිඳු හිමියන්ගෙන් බුදු දහම ව්‍යාප්ත වී යැයි පිළිගත නොහැකි වන්නේ, බුදුන් වහන්සේ කීප වාරයක් යකුන් එළවීමට හෝ, ආරවුල් සමථයකට පත් කිරීමට හෝ මෙරටට පැමිණි බව කීමෙනි. නමුත් රාජ අනුග්‍රහය, වෙනත් තරඟකාරී ආගම් නොතිබීම, ජනතාවට පහසුවෙන් තේරුම් ගත හැකි භාෂාවෙන් දේශනා කිරීම ආදී කරුණු නිසා, බුදු දහම ඉක්මනින් ජනප්‍රිය තත්වයට පත්විය.

### සංඝයා වහන්සේට භෞතික, ලෞකික වස්තූන් පූජා කිරීම

බුදු රදුන් දවස පටන්, බොහෝ විට ඊටත් පෙරාතුව සමකාලීනව විසූ ආගමික ශාස්තෘවරුන්ට ඉඩකඩම්, දේපළ, කුඹුරු, වැව් ජලාශ, ආදායම් මාර්ග පාලක ප්‍රභූන් විසින් පූජා කරන ලද බවට ඓතිහාසික සාධක ඇත. ආගමික සංස්ථාවට සමාජය කෙරෙහි ඇති කළ හැකි බලපෑම, පාලකයින් මෙල්ල කළ හැකි ආයුධයක් ලෙස මෙලෙස "පූජා" කිරීම් ස්ථාපිත වූවා විය හැකිය. අප්‍රකටව පසුබිමේ සිට මෙහෙයුම් සිදුකිරීමට සංඝ සමාජයට කවදත් හැකියාව තිබුණි. ජනගහනයෙන් සුළුතරයක් වුවද, මනස කැලඹීමේ කර්තව්‍යයේදී ඔවුන් ප්‍රමුඛත්වය ගනු ලබන අතර, බලවතුන් එවැනි බෙදීම්වලට අකමැත්තක් නොදක්වන්නේ, දුන් දෙයක් රැගෙන නිහඬ කිරීමද කළ හැකි බව දන්නා හෙයිනි.

කොත්මලේ අමරවංශ හිමියන්ගේ "ලක්දිව සෙල්ලිපි" (ප්‍රථම මුද්‍රණය 1969 පෙබරවාරි) ග්‍රන්ථයේ ගල් ලෙන්, වැව්, පොකුණු ආදී වස්තූන් සංඝයාට පොදුවේත්, පුද්ගලික මට්ටමිනුත් ප්‍රදානය කරන ලද සෙල්ලිපි සටහන් සිය ගණනක් එහි අඩංගුය.

පාලකයින්ට අමතරව, ප්‍රභූ පවුල්වල සාමාජිකයින් ද වෙළඳුන් ද, නාවිකයින් ද ආදී වශයෙන් එවැනි ප්‍රදාන කළ බවට සෙල්ලිපි ඇත.

"පොළොන්නරු යුගය" විශේෂ කලාපය (මහා පරාක්‍රමබාහු රජු රජ පැමිණ 800 වැනි සංවත්සරය නිමිති කොට පළ කරන ලද 1153-1953, 1955 මැයි 1 වැනි ඉංග්‍රීසි මුද්‍රණය) 132 පිටුවේ, පොළොන්නරු යුගයේ බෞද්ධ තත්වය ගැන වින්සන්ට් පණ්ඩිත මහතාගේ සාරගර්භ ලිපිය වැදගත්ය.

එක් එක් කාල වකවානුවල පැවති කැරලි කෝලාහල, විදේශීය ආක්‍රමණ, දේශපාලන බලපෑම් ආදිය මත රජ පවුල්වල ඉරණම තීරණය වූ හැටි එහි විස්තරාත්මකව දක්වා ඇත.

"මෙම මිථ්‍යාදෘෂ්ටික නිකායන් සහ ඔවුන්ගේ ඉගැන්වීම් ද මෙරට පැතිරී යාම. ථේරවාදී පාර්ශවය වූ ලංකාවේ භික්ෂු සංඝයා වහන්සේගේ වැඩ කටයුතුවලට බාධාවක් විය....." 136 පිටුව.

"අසමගිය අතින් පමණක් නොව විනය ගරුත්වය හා ආචාර සමාචාර අතින්ද භික්ෂූන්ගේ තත්වය අසතුටු දායක විය. ගල්විහාර සෙල් ලිපියෙහි වූ පොළොන්නරු කතිකාවතෙහි සඳහන් වගන්තිවලින් මේ බව තවදුරටත් පැහැදිලි වෙයි......" මෙම සෙල්ලිපිවල සඳහන් පරිදි කෘෂිකර්මයෙහි හා ව්‍යාපාරයන්හි යෙදුණු භික්ෂූන් හා ඉඩකඩම් හා වෙනත් දේපළවලට හිමිකම් තබාගත් භික්ෂූන් ද සිටි බැව් පෙනේ......" 137 පිටුව.

මේ අනුව පැහැදිලි වන්නේ සංඝයා වහන්සේගේ චර්යාව සමාජ ආයතන කෙරෙහි බලපෑම් කළ බව පමණක් නොව, සියල්ලන් භික්ෂූන් ලෙස ශාසනගත වූයේ, සසරින් ගැලවීමේ මාර්ගයක් පමණක් ලෙස එය නොසැලකූ බැවිනි. දේපළ භික්ෂූන්ට අකැපද යනු බෞද්ධ විනයෙහි දක්වෙයි.

කාලීන අවශ්‍යතා අනුව, මිනිසෙකු වූ භික්ෂුවගේද ඕනෑ එපා කම් වෙනස් විය හැකිය.

යම් නීති පද්ධතියකින් ඒ දේපළ නායකත්වය, පරම්පරාව ගෙන යා යුතු ආකාරය ආදිය පමණක් සීමාවන් තුළ විය යුතු යැයි මෑත කාලයෙහි ඇතිවූ මතය මල් පල ගැන්වීමට සරල නීති ඇත. විනය පාලනය ගිහියන්ට පැවරීම නුසුදුසු බව එයින් ඔප්පු කැරිණ. කෙසේ

වෙතත් බුදු දහමේ හරය හා සැසඳීමේදී සමහර ක්‍රියා සදාචාරාත්මක නොවන බව පැහැදිලි වෙතත්, එය ආගමික නායක, කාරකාදීන්ගේ කර්තව්‍යයක් මිස සිව් පසය දෙන ගිහියන්ගේ අයිතියක් නොවන බවද අද මුල් බැසගෙන හමාර ය.

අනෙක් අතට, පොතෙහි අරමුණ මේ තත්‍වයන් විවේචනයට බඳුන් කිරීම නොව, සංඝ සමාජය භෞතික වස්තූන් අරභයා උසාවි වල රස්තියාදු වීමෙන් හා අදාළ නීති රීතිවල නිපුණත්වයක් නොමැති වීමෙන් අනෙකුත් ආගම්වල අයට, බෞද්ධාගම අභියෝගයට ලක් කිරීමට ඒ තත්‍වය ආයුධයක් කර ගන්නා බැවිනි. මේ විහාර දේපළ, පන්සල් නීතිය විශේෂිත නීතියකි. එය සංකීර්ණ ය. ගැඹුරු ය, එහෙත් සරලව තේරුම් ගත හැකි ය. අධිකරණ තීන්දු සරල ව තේරුම් ගත හැකි ය. අධිකරණ තීන්දු මගින් පැහැදිලි කිරීම් කොට, ඌනතා හඳුන්වා දී ඇත. සංශෝධන කිහිපයක පිටපත් ද ඇමුණුම් ලෙස ඇඳා ඇත.

## කතෘගේ අනෙක් පොත්

- Partition Law of Sri Lanka in Practice
- The law of Negligence relating to Road Accidents
- Rules of Interpretation
- Bail and Human Rights
- Law of Torts
- The Law of Evidence
- Code of Criminal Procedure with Amendments
- Law of Injunctions with Decided Cases
- ශ්‍රී ලංකාවේ බෙදුම්, විහාර දේපළ සහ 66 වැනි වගන්තියේ නීතිය.
- උසාවි ඇප, මානව හිමිකම් සහ නීතියේ ආධිපත්‍යය
- බුදු දහම සහ පුරා විද්‍යාවේ සබැඳියාව
- The Historical Development of s. 66 applications

# මුල් පිවිසුම - 01 - පණතේ ආරම්භය

පෙර රජ දවස පටන් සංඝ ශාසනයට කුඹුරු, වතුපිටි, ඇළ දොළ, විහාර, දගැබ් පමණක් නොව, ඒවා නඩත්තු කිරීමට අවශ්‍ය දාසි දස්, අදායම් මාර්ග පවා පූජා කළ බවට ශිලා ලේඛන සාක්ෂි දරයි. බොහෝ අවස්ථාවන්හි දී, පුද්ගලයෙකුට වඩා වාසස්ථානය ලෙස පරිහරණය කරන ලද ලෙනකට මෙසේ පූජා පැවැත් වූ බවට සාධක ඇත. ඒ හැරුණු විට, සතර දිගින් වඩින සංඝයා වහන්සේලාට ලෙන්, ගුහා පූජා කොට තිබේ. එවිට එක් පුද්ගලයෙකුට වඩා මුළු සඟ පරපුර අරමුණු කොට ගත් බව පැහැදිලි ය.

විදේශීය ආක්‍රමණවලදී සංඝයා වහන්සේ ඇතුළු වෙහෙර විහාර කඩා බිඳ, මරා දමා දේපළ මංකොල්ලකෑමවල යෙදී තිබේ. බොහෝ විට, ඔවුන් විසින් බෞද්ධයන් සලකන ලද්දේ මිථ්‍යා දෘෂ්ටිකයින් ලෙස ය. විදේශ භාෂා, සිරිත් ආදිය බෞද්ධයින් වැළඳ ගන්නා තෙක්, ඒවා ආරක්ෂා කරන ලද්දේ භික්ෂූන් වහන්සේලා විසින් බව අමතක කළ යුතු නැත.

කෙසේ හෝ වේවා, අරමුණ කෙබඳු වෙතත්, ඉංග්‍රීසින්ගේ ආධිපත්‍යයෙන් අනතුරුව, යම් නීතිමය පිළිගැනීමක් බෞද්ධාගමට සහ විහාර දේපළවලට ලැබුණු බවද පිළිගත යුතුය. මුහුදුබඩ ප්‍රදේශ ඉක්මනින් සහ පහසුවෙන් ආක්‍රමණයට ගොදුරු වුවද, උඩරට තත්වය වෙනස් විය. උඩරට, එංගලන්තය යටතේ, ස්වරාජ්‍යයක් ලෙස පෙර සිරිත් අනුව පාලනය වීම, ඉංග්‍රීසින්ගේ මුල් අභිප්‍රාය විය.

අනෙක් අතට, රාජකාරී ක්‍රමය අහෝසි කිරීම, ජූරි සභා ක්‍රමය ආදී මහජන යහපත උදෙසා ක්‍රියාත්මක කිරීමේ උත්සාහයන්, වරින්වර ආණ්ඩුකාර පදවියට පත් වූ ඉංග්‍රීසින් අමතක කොට නැත.

බ්‍රවුන්රිග් ආණ්ඩුකාරයා උඩරට අල්ලා ගැනීමේ උත්සාහය අත් හළේ නැත.

1812 මාර්තු 11 වැනි දින තනතුර භාරගත් හෙතෙම, ජෝන් ඩොයිලිගේ රහස් ඔත්තු සේවය තුළින්, උඩරට සැබෑ තත්වය රජුගේ

හිතුවක්කාරී පාලනය, ප්‍රධාන පෙළේ රදළයින් රජුට එරෙහිව කටයුතු කිරීම ආදිය අධ්‍යයනය කරමින් ආක්‍රමණය සූදානම් කළේය.

1815 මාර්තු 02 දින ගිවිසුම අත්සන් තබන ලදී. එය සකස් කරන ලද්දේ ඩොයිලි විසිනි. වගන්ති 12 කින් සමන්විත එහි 05 වැනි වගන්තිය මගින් බුදු දහම සුරැකීම, චාරිත්‍ර සහ භික්ෂූන් නඩත්තු කිරීම සහ අරක්ෂා කිරීම සහතික කැරිණ. අසල්වැසි රාජ්‍යයක් කෲර ලෙස අල්ලා ගැනීම සාධාරණ කරනු පිණිස, මානුෂික මුහුණුවරක් දී ඇතත්, රාජ පරම්පරාව ගැන තියුණු කොන්දේසි පනවන ලදී.

ඒ අනුව, මුල් වතාවට, බ්‍රිතාන්‍ය ආක්‍රමණිකයින් බුද්ධාගම පිළිගෙන, විහාර දේපළ, සිරිත් විරිත් ගරු කටයුතු ලෙස ආරක්ෂා කැරෙන කොන්දේසිය මුල් වරට රාජ්‍ය මට්ටමෙන් සිදු වූ බව කිව හැකිය.

1818 නොවැම්බර් 21 වැනි දින බ්‍රිතාන්‍ය ස්වෛරීභාවය ප්‍රකාශනයක් මගින් පළ කරන ලද අතර එහි වගන්ති 56 ක් ඇත. මේ 1817 ඔක්තෝබර් මාසයේ බ්‍රිතාන්‍ය පාලනයට එරෙහිව ආරම්භ වූ කැරැල්ලෙන් උරණ වූ ඉංග්‍රීසීන් තම අනසක පතුරවාලීමට ගත් උත්සාහයකි. නමුත් ඔවුන්ට පක්ෂපාත වූ උඩරට ප්‍රධානීන් ගැන එහි 22 වගන්තියෙන් සහන සලසා ඇත්තේ ඉඩකඩම්වලින් අය කෙරෙන බදුවලින් නිදහස් කිරීමෙනි.

අවසාන වූ 56 වැනි වගන්තියෙන් දැක්වෙන්නේ ප්‍රකාශනයෙහි (Proclamation) සඳහන් නොවූ කරුණු අවශ්‍ය පරිදි වෙනස් කිරීමේ බලතල එංගලන්ත රජු සතු බවයි.

කෙසේ වෙතත්, ධම්පාල රජු පරංගින්ට ඔප්පුවකින් ලංකාද්වීපය තෑගි කොට දීම තරම් භයානක නොවූවත්, අඩු තරමින් ආරම්භයේදී හෝ ගිවිසුම තරමක සහනදායී බවක් ලක්වැසියන් කෙරෙහි දක්වා ඇති බව පෙනේ.

උඩරට ගිවිසුමට (Kandyan Convention) පසුව මේ ප්‍රකාශනය නිකුත් කරන ලදී. මලබාර් පාලකයන්ගේ අත්තනෝමතික, ආසාධාරණ ශාරීරික වදහිංසා පැමිණවීම්, මරණීය දණ්ඩනය නියම කිරීම ආදී වූ ක්‍රියාවන් හැරෙන්නට ඉහත දක් වූ පරිදි 5 වැනි වගන්තියෙන් බුද්ධාගම, වන්දනීය ස්ථාන, සිරිත් ආරක්ෂා කිරීම, සිදු කරන බවට ගිවිස ගෙන තිබුණි.

1818 නොවැම්බර් 21 වැනි ප්‍රකාශනය 1892 අංක 4 රාජාඥාවේ දැක්වෙයි. (Ord. No. 49, 1892) නැවත 1819 සැප්තැම්බර් 18 වැනි දින

පන්සල් ඉඩම් ලියාපදිංචි කිරීමේ ප්‍රකාශනය (Proclamation) නිකුත් කරන ලදී. එය 1905 අංක 08 දරන රාජාඥාව මගින් මුද්‍රණය විය. ඒමගින් 1818 ප්‍රකාශනයෙන් මුදාහළ භුක්ති බද්ද (Tenure Tax) ගෙවීමට අදාළ පන්සල් දේපළ ලියා පදිංචි කිරීමට පියවර ගැනිණ. හුදෙක් රජයේ ආදායම ආරක්‍ෂා කර ගැනීම එහි පරමාර්ථය විය. ඒ අනුව විහාරාධිපති සහ බස්නායක නිලමේ වරුන්, පන්සල්වලට අයත් ඉඩම් ලැයිස්තු ගතකොට, ඒවායේ පිහිටීම සහ ලබාගත් ආකාරය පැහැදිලි කිරීමට බැඳී සිටියහ. ඒ පමණකින් නොනැවතී, අනාගතයේදී එවැනි ඉඩ කඩම් පන්සල් වලට දීමේදී ප්‍රදේශය භාර රජයේ බලධාරීන්ගේ පූර්ව කැමැත්ත ලබා ගැනීමට විධාන සලස්වන ලදී. නැවත, 1822 මැයි 21 වැනි දින ප්‍රකාශනය මගින් එතෙක් ලියාපදිංචි නොවූ පන්සල් ඉඩම්, ලියා පදිංචි කිරීම සඳහා විධාන කැරිණ. මෙය 1905 අංක 08 දරන රාජාඥාව වෙයි.

මේ අනුව, පන්සල් දේපළ පිළිබඳව තිබූ පන්සල් සතු ආධිපත්‍ය, ඍජුවම රජය යටතට පත් වීමක් සිදුවිය.

පිළිවෙළින්, රාජාඥා මගින් පන්සල් ඉඩම් අයිතිය සීමා වන පරිදි නීති එළි දැක්වූ අතර, අනුප්‍රාප්තිය ස්ත්‍රීන්ටද හිමි වන ආකාරයට 1870 අංක 4 දරණ භුක්ති රාජාඥාව **(Tenure Ord.)** පැනවීය.

සමහර විට, එක් ආගමික සංස්ථාවකට ලැබී ඇති විශේෂ වරප්‍රසාද සීමා කිරීමට අවශ්‍යතාවයක් රජයට තිබුණා විය හැකිය. ක්‍රමයෙන් අණ පණත් මගින් ඒවා සීමා කිරීම සිදු විය.

පන්සල් දේපල විශේෂයෙන් ඉඩ කඩම් පාලනය යථා තත්වයට පත් කිරීමෙන්, රජයේ ආදායම තහවුරු විය.

ඒ අනුව, එවකට පැවති ආණ්ඩු මගින් විවිධ රෙගුලාසි සහ රාජාඥාවන්ද, අණ පණතින් හා නීති මගින් විහාර දේපළ ආඥා පණතට ඓතිහාසික තත්වයක් ලැබුණි. (Budhists Temporalities Ordinance) බෞද්ධ භික්‍ෂූන් අත පැවති දේපළ පරිහරණය නිසි පරිදි ක්‍රියාත්මක වීමක් නොවූ බැවින් භාරකරුවන් අතට පත් කිරීම ඒ සියලු සංශෝධනයන්ගේ අභිප්‍රාය විය.

භාර සංකල්පය **(Trustees)** ඉංග්‍රීසි නීතියෙහි මූලික සිද්ධාන්තයකි.

1889 අංක 03 දරණ රාජාඥාව මෙහිලා මූලික ව්‍යාවස්ථාමය පසුබිම වෙයි. එහෙත් විහාරාධිපති තනතුර පැවති තත්වයෙන් පැවතුණි. එහි බලතල, අයිතීන් යම් කප්පාදුවකට ලක් වුවද, තනතුර පිළිගැනිණ.

අනතුරුව, 1895 අංක 08 දරණ රාජාඥාව එළි දැක්වුණි. එය පෙර ආඥාවේ අර්ථ නිරූපණය කැරෙන මේ දෙකම එකට කියවා ක්‍රියාත්මක කළ යුතු තත්වයක් ඇරඹුණි.

නැවත 1905 අංක 08 දරන රාජාඥාව මගින් ඊට පෙර ක්‍රියාත්මක වූ ප්‍රකාශන, රාජාඥා ගණනාවක්ම අවලංගු කරන ලදී. එය මුළු නීතියම එක්කාසු කොට, ඒකාබද්ධ කිරීමට සහ එකම නීතියක් බවට පත් කිරීමට ප්‍රතිපාදනය කැරිණ.

කමිටු ක්‍රමයක් ඇති කිරීම එහි එක් අරමුණක් විය. එතෙක් " පන්සල්" යන වචනයට වඩා පුළුල් අරුත් දෙමින් අටමස්ථාන කමිටුව ඇතුළත් විය. මේ නඩු තීන්දුව පසුව විස්තරාත්මකව දැක්වෙයි.

1931 අංක 19 දරන රාජාඥාවට ආණ්ඩුකාරයාගේ අත්සන තබන ලද්දේ 1931 ජූනි 26 වැනි දින වන අතර, එහි දැක්වෙන්නේ ප්‍රකාශනයක් (Proclamation) මගින් ක්‍රියාත්මක වීම ආරම්භ වන අවස්ථාව දන්වන බවයි.

පූර්විකාවට අනුව "1905 බෞද්ධ විහාර දේවාලගම් පිළිබඳ රාජාඥාව, බෞද්ධ විහාර දේවාලගම්වලට පූර්ණ ආරක්ෂාව දීමට අපොහොසත් වීම ගැන දැනුවත් වූ අතර,

ඒ අනුව, පරිපාලනය හා පාලන විධි පවත්වා ගෙන යාමේ ක්‍රමයක් මෙන්ම, ප්‍රමාණවත් ආරක්ෂාවක් සැලැස්වීම ඉක්මනින් කළ යුතු වීමත් නිසා ලංකාවේ ආණ්ඩුකාරයා ව්‍යවස්ථාදායක සභාවේ උපදෙස් සහ කැමැත්ත පරිදි, මෙසේ පනවනු ලැබේ."

ඊළඟට, මෙහි ඡේද 49 ක් ඇති අතර, අවසාන ඡේදය වැදගත් වන්නේ, ඊට පෙර තිබූ 1905 රාජාඥාව සහ 1919 අංක 15 දරන සංශෝධනයන් අවලංගු කිරීමයි. ඒ අනුව, ක්‍රියාත්මක වන්නේ 'බලපැවැත්වෙන්නේ' ඒ අවලංගු කරන ලද නීති හැර, මෙම 1931 රාජාඥාව පමණක් බව පෙනේ.

හැරත්, එහි පූර්විකාව (Preamble) මෙහිදී, නීතියේ අරමුණ පැහැදිලි කරයි. ඒ අනුව විහාර දේපලවලට ප්‍රමාණවත් ආරක්ෂාවක් නොලැබීම පෙරදී අවලංගු කරන ලද නීතිවල අඩුපාඩුවක් හැටියට දැකීමයි. පාලනය සහ ක්‍රියාවේ යෙදවීමට කිසියම් ක්‍රමවේදයක අවශ්‍යතාවක් පැනනැඟීමයි. ඒත්, ඒ දේපළවලට ප්‍රමාණවත් ආරක්ෂාවක් සැලසීමේ අරමුණ ඉටුකර ගැනීම උදෙසා ය.

බැලූ බැල්මට අරමුණු යහපත් ය. පෙර අවලංගු වූ නීතිවල ඌනතාවන් එක් ක්‍රමයක් තුළින් සාක්ෂාත් කර ගැනීම සහ ඒ සඳහා ව්‍යවස්ථාදායකයේ උපදෙස් සහ කැමැත්ත ලබා ගැනීම ද අවශ්‍ය බව එහිම දැක්වෙයි.

1905 මුළු දිවයිනේම විහාර දේපළ එම නීතියට යටත් කරන ලදී. එපමණක් නොව, එයද පෙර නීති ගණනාවක් අළලා සකස් කරන ලද්දකි. 1819, 1822 ප්‍රකාශන ද, 1852 අංක 8 දරන රාජාඥාව ද, 1856 අංක 10 සහ 1870 අංක 14 ද මෙයට අන්තර්ගතකොට, ඒකාබද්ධ වූ එක් නීතියක තත්වයට පත්ව තිබුණි. 1905 අංක 8 අවලංගු වන විට, අනිවාර්යයෙන්ම ඊට පසුබිම් වූ අනෙක් ප්‍රකාශන සහ නීතිද අවලංගු වෙයි.

නමුත්, 1907 අංක 14 සහ 1912 අංක 27 ද, 1905 රාජාඥාව සංශෝධනය කළ බව පැහැදිලිය.

දිස්ත්‍රික් කමිටුව, අටමස්ථාන කමිටුව, අටමස්ථානාධිපති පත් කිරීම ආදී විධි විධාන ඒ නීතියේ සඳහන් ය. 'පන්සල්' යන්න තුළට අටමස්ථානය ඇතුළත් වූයේ එසේ අවලංගු කළ රාජාඥාව යටතේ වුවද, මුළුමනින්ම සියලු විධි විධාන අවලංගු වූයේ යැයි නොසිතිය යුතු අතර, පෙර නීති කොතෙක් දුරට අවලංගු වුවද, අර්ථකථන නීතියේදී, අපැහැදිලි දේ පැහැදිලි කර ගැනීම සඳහා සමාන නීති රීති අනුගමනය කිරීම වැදගත් රීතියකි. (Pari materia)

ඊටත් වඩා 1931 අංක 19 නීතිය එම නීතිය හඳුන්වන්නේ, නීතිය ඒකාබද්ධ කිරීම සහ සංශෝධනය කිරීම සඳහා බවයි. (To consolidate and Amend) ඒ අනුව, පෙර අවලංගු වූ නීතිවල අන්තර්ගතයන් මෙහි ඇත. සංශෝධනය වූ වගන්ති, වචන, අරුත් පැහැදිලි කිරීම්, නිර්වචන යෙදීම් තිබෙනු ඇත.

පරමාර්ථ වශයෙන් ගත් කළ, විශේෂ ක්‍රමවේදයක අවශ්‍යතාව තහවුරු වී ඇත. පවත්නා තත්වයන් ප්‍රමාණවත් ආරක්ෂාවක් නොසැලසීම නිසා ඊට වෙනස් වූ ක්‍රමයක් තිබිය යුතු බව වටහා ගෙන ඇති අතර, කමිටු ක්‍රමයක් කීප දෙනෙකුගෙන් සමන්විත වන අතර, මත ගැටුම්, විවිධ ක්‍රමවේද අවුල් සහගත තත්වයකට හේතු වීමද ස්වාභාවික ය.

## දෙවැනි පිවිසුම - 02 - පණතේ අරමුණ

ශ්‍රී ලංකා නීති පැනවුම් හි 15 වැනි පිටුවේ, 1980 ප්‍රතිශෝධිත මුද්‍රණයේ 396 පරිච්ඡේදයෙහි බෞද්ධ විහාර දේපළ නීතිය සඳහන්ව තිබේ. එහි දීර්ඝ ශීර්ෂයට අනුව, "ශ්‍රී ලංකාවේ විහාර දේපළ පිළිබඳ නීතිය සංශෝධනය සහ ඒකාබද්ධ කිරීම සඳහා මෙම රාජාඥාව ලෙස හැඳින්වෙන නීති පද්ධතිය හඳුන්වා ඇත.

නමුත්, අංක 19 සහ 1931 රාජාඥාවේ දැක්වෙන්නේ ඒකාබද්ධ සහ සංශෝධනය කිරීම සඳහා බවයි. මේ වෙනසට හේතු ඇත. නීති පැනවුම්හි දැක්වෙන පරිදි සංශෝධනය මූලික වෙයි. එහෙත් අංක 19 ට අනුව ඒකාබද්ධ කිරීම මූලික වෙයි.

1931 අංක 19, 1940 අංක 9, 1941 අංක 14 සහ 1947 අංක 32 ද රාජාඥා වේ. 1955 අංක 22 සහ 1968 අංක 11 ද පමණක් වන අතර, නැවත 1973 අංක 34 නීතිය (Law) සහ 1980 අංක 22 පණතක්ද වෙයි. ඒ නිසා සැබෑවටම දැන් විහාර දේවාල ගම් නීතිය පණතක් මිස රාජාඥාවක් නොවේ. නීතිය (Law) ද නොවේ. එදා ඒකාබද්ධයට පසුව සංශෝධනය අවශ්‍ය විය. මෙදා මුලින් සංශෝධනය කොට නීතිය එකලස් කිරීමක් විය. එය සම්පූර්ණ නීතියකි. (Consolidation)

ඊළඟට මෙහි කෙටි නාමයට අනුව තවමත් එය රාජාඥාවකි. පණත ලෙස 1980 දි සංශෝධනය වුවද, මූලික හරය ඇත්තේ රාජාඥාවෙහිය. කෙසේ හෝ මෙය ප්‍රශ්නයට අදාළ නොවන අතර, එම 1931 මූලික පදනමේ ඇති පරිදිම අර්ථකථනය 2 වැනි වගන්තියෙහි දැක්වෙයි.

ඒවායින් අධිකරණයන්හි විනිශ්චයට භාජනය වූ සහ එසේ වන වචන කීපයක් ඇත.

1. භික්ෂුව යනු (උපසම්පදා හෝ සාමණේර),
2. මාරුවෙන පංගුව
3. පරිවේණ පංගුව

4. මහා භාරකාර තැන,
5. පන්සල යනු විහාරය, දාගැබ, දේවාලය, කෝවිල, ආවාසගෙය හෝ බෞද්ධ වන්දනාවට පාවිච්චි වන කවර හෝ තැනක් සහ දළදා මාලිගාව, ශ්‍රී පාද ස්ථානය සහ අනුරාධපුර අටමස්ථානය ඇතුළත් වෙයි.
6. භාරකරු යනු මේ යටතේ පත් කරනු ලබන පන්සලක භාරකරුය. එයට දියවඩන නිලමේ, බස්නායක නිලමේ සහ අටමස්ථාන කමිටුව ඇතුළත් වෙයි.
7. විහාරාධිපති, යනු පන්සලක ප්‍රධාන භික්ෂුවයි. දේවාලයක හෝ කෝවිලක ප්‍රධානියා නොවේ. පදිංචිය හෝ එසේ නොවන බවද කියැවේ.

ප්‍රශ්නයට බඳුන් වූ සහ, සම්පූර්ණයෙන් නිරාකරණය නොවූ ගැටලුවක් තව දුරටත් මේ නීතියේ 34 වැනි වගන්තිය ආශ්‍රිතව ය. එනම්.කාලාවරෝධි නීතියේ බලපෑමයි. නමුත් මේ අරුත් දෙන පැරණි එනම් අංක 19 රාජාඥාවේ 34 වැනි වගන්ත්ය මීට වෙනස් ය. එහි දක්වන්නේ 1871 අංක 22 දරන ආඥාවේ විධි විධානවලට බාධාවක් හෝ එරෙහි වන පරිදි එවැනි ඉල්ලීමක් නොවිය යුතු බවයි. වෙනත් වචනවලින් කියතොත්, ඉල්ලීමක් කළ හැකිය. එහෙත් ඒ බාධාවක් නොවන පරිදි ය. එහිම ව්‍යතිරේඛයක් ලෙස දක් වෙන්නේ මේ ආඥාව ක්‍රියාත්මක හෝ ආරම්භ වීමට පෙර ලැබූ අයිතිවාසිකම්වලට බල නොපාන බවයි. (මේ පිළිබඳ නඩු තීන්දු අදාළ තන්හිදී දක්වනු ලැබේ.)

ඒ අනුව බලන විට, හුදෙක් මේ නීතිය පොතට සීමා කිරීමේ අභිලාෂයක් තිබුණත්, අධිකරණ තීන්දු මගින් විවිධ අර්ථකථන දෙමින්, ඒ ඇට කටුවලට ප්‍රාණ ජීවය දීම වැදගත් ය. හැරත්, ගිහි සැප අතහැර සසුන්ගතවූ භික්ෂූන්ට ප්‍රායෝගිකව ඇතිවන ප්‍රයෝජනවලට (දේපළ හා තනතුරුවලට අදාළව) කිසියම් සහනයක් මේ තීන්දු ආශ්‍රිත කරුණුවලින් ලැබෙන්නේ නම් එය කොතරම් අගය කළ යුතු දෙයක්ද? කෝටි ගණන් වටිනා දේපළ ඇත්තේ පන්සල්වලට පමණක් නොවේ. අනෙක් ආගමික ස්ථාන සතු දේපළවලට අදාළ නීති ද ඇත.

1980 අංක 22 පණතින් සංශෝධනය වූ පසු, බෞද්ධ විහාරගම් දේවාල පණත (1931 අංක 19) නැවත 1981 අංක 42 මගින් ද, 1992 අංක 3 මගින් ද සංශෝධනය විය. පාර්ලිමේන්තුවේ වැඩි ඡන්ද කිහිපයකින්

මිස, ආණ්ඩු ක්‍රම ව්‍යාවස්ථාවේ මෙන් 2/3 ක වැඩි ඡන්ද, ජන මත විචාරණය ආදිය අනවශ්‍ය වන අතර බුද්ධ ශාසන ඇමතිවරයා විෂය භාර ඇමති ලෙස කටයුතු කරයි.

කෙසේ වෙතත් **1978 ජනරජ ආණ්ඩුක්‍රම ව්‍යාවස්ථාවේ 11 වන පරිච්ඡේදයෙහි 9 වැනි වගන්තිය ප්‍රකාරව** තත්වය වෙනස්ය. එහි මෙසේ දැක්වෙයි. "ශ්‍රී ලංකා ජනරජය බුද්ධාගමට ප්‍රමුඛස්ථානය පිරිනමන්නේය. එහෙයින් 10 වන ව්‍යවස්ථාවෙන් සහ 14 වන ව්‍යවස්ථාවේ (1) වන අනු ව්‍යවස්ථාවේ (ඉ) ඡේදයෙන් සියලුම ආගම්වලට පිරිනැමෙන අයිතිවාසිකම් ආරක්ෂා කර දෙන අතර බුද්ධ ශාසනය සුරක්ෂිත කොට පෝෂණය කිරීම රජයේ වගකීම විය යුත්තේය.

10 වගන්තිය පරිදි "සෑම තැනැත්තෙකුටම තමන් අභිමත ආගමක් ඇදහීමේ හෝ වැලඳ ගැනීමේ නිදහස ද ලබ්ධියක් හෝ විශ්වාසයක් දරීමේ හෝ පිළිගැනීමේ නිදහස ද ඇතුළුව, සිතීමේ නිදහසට, හෘදය ශාක්ෂියේ නිදහසට සහ ආගමික නිදහසට හිමිකම් ඇත්තේ ය."

14(ඉ) "එකලාව හෝ අන් අය සමග, ප්‍රසිද්ධියේ හෝ පෞද්ගලිකව, තම ආගම, ලබ්ධිය හෝ විශ්වාසය ඇදහීමෙන්, පිළිපැදීමෙන්, ප්‍රගුණ කිරීමෙන් සහ ඉගැන්වීමෙන් ප්‍රකාශ කිරීමේ නිදහසට,"

මේ අනුව, සමාන්‍ය නීති ගණයට නොව, අණ්ඩු ක්‍රම ව්‍යාවස්ථා නීතියට අදාළව සංශෝධන කිරීමේ නීතිමය අවශ්‍යතාවක් මෙම වගන්තිවලට ඇතැයි කෙනෙකුට තර්ක කළ හැකිය.

එසේනම් 9 වන ව්‍යවස්ථාවට අනුව ප්‍රමුඛස්ථානය හිමි වන්නේ බුද්ධාගමටයි. සෙසු ආගම්, ලබ්ධීන්, විශ්වාසයන් කෙබඳු වෙතත්, ඒවා සුරක්ෂිත වෙයි. බුද්ධ ශාසනයද සුරක්ෂිත කොට පෝෂණය කැරෙයි. එය රජයේ වගකීමයි.

දුෂ්කර කාර්යයක් වෙතත් ඒ වගකීම රජය භාර ගෙන ඇත්තේය.

බුද්ධාගම සහ බුද්ධ සාසනය එකක් හැටියට ද සැලකිය යුතු බව මේ ව්‍යවස්ථාවෙන් කියැවෙයි. ඊළඟට ආගම් ඇදහීමේ නිදහස 10 වන ව්‍යවස්ථාවෙන් පිරිනැමෙයි. 14(ඉ) ව්‍යවස්ථාවද නිදහසේ ආගම් ඇදහීමේ අයිතිය පිරිනමයි.

මේ අනුව 'පන්සල' හෙවත් 'Temple' ලෙස අර්ථ නිරූපණයට ලක් වන වචනය විශාල හා පළල් අරුත් දෙන තත්වයට පත්ව තිබේ.

විහාරය, දාගැබ, දේවාලය, කෝවිල ආවාස හෝ බෞද්ධ වැඳුම් පිදුම් සඳහා පාවිච්චි කරන ඕනෑම තැනක් පන්සලට ඇතුළත්ය. හුදෙකලාව එක් එක් වචනය ගත්තත්, ඒ සියල්ල එකම තැනක තිබිය යුතු යැයි සැලකුවත් වෙනසක් නැත. ඒ සියල්ල එකම තැනක ඇති පන්සල් නැතුවා නොවේ. මෙහිදී වැදගත් වන්නේ ස්ථානය, පිහිටීම හෝ අංගෝපාංග නොව, බෞද්ධ වැඳුම් පිදුම් සඳහා පාවිච්චි කරන තැනකි.

මෙයට දේවාලයක් ද අයත් වෙයි. කෝවිල් බෞද්ධයින්ගේ වන්දනාමානයන්ට උපයෝගී කරනු ලබන තැන් නොවේ; ආවාස යනු භික්ෂූන් වාසය කරන ගොඩනැගිලි ය. ගොඩනැගිලි වන්දනාවට භාජනය නොවේ. දේවාල පන්සල් භූමියෙහි ඇත; එහෙත් ඒ විවිධ නම් වාසගම්වලින් හැඳින්වෙන දෙවියන්ය. බුද්ධාගමට දේව වන්දනාව කොතෙක් එකඟදැයි වෙනම ප්‍රශ්නයකි.

නමක් ලෙස 'බෝධිය' (Bo Tree) මෙහි අන්තර්ගතව නැත. අද පන්සලක මුල් තැන ලැබෙන්නේ බෝ ගසට ය. එය වන්දනා මානයට ලක්වූයේ බුදුන් දවසම ය. දේවාල සහ කෝවිල් විවිධ ආගම් වාද නිසා එදාත් තිබෙන්නට ඇත. ස්ථිර ගොඩනැගිලි, සුව පහසු කාමර පන්සල්වල ඇත. බෝ ගස අසල බුදු පිළිමයක් ද ඇත. එහෙත් එහි අත්තක් හෝ කැපීමට බෞද්ධයෝ බිය දක්වති! බොහෝවිට, විනය නීති රීති ඇති වූයේ, පැනනැගෙන ප්‍රශ්නයකට විසඳුමක් ලෙසට ය. නඩු තීන්දුවක් ඇති වන්නේද, අධිකරණය හමුවට ප්‍රශ්නයක් ඉදිරිපත් වූ විටය.

ඒ අනුව, බෞද්ධ පන්සලක් "නීතිමය පුද්ගලයෙකු" වේදැයි ප්‍රශ්නයක් පැන නැඟුණි. (Corporate or juristic Person) සංස්ථාපිත ආයතනවලට, පුද්ගලයින් වෙනස් වෙනත්, පාලන විධි කෙසේ වෙතත්, දිගටම අඛණ්ඩව නීතිමය තත්වයක් ඇත. (C.W.E, C.T.B) මේ ආයතන වලට නමින් නඩු පවත්වා ගෙන යා හැකිවේ. දිගු කල් පැවැත්ම නැත. (Perpetual Succession) හෙවත් දීර්ඝ කාලීන, අඛණ්ඩ වූ අනුප්‍රාප්ති තත්වයක් නැත.

ගසක්, ගලක් ආශ්‍රිතව බෞද්ධ වන්දනාමාන සිදු වන්නේ නම් එයත්, ආගමික ස්ථානයකි. එයට එරෙහි වීම මූලික අයිතීන් උල්ලංඝනය කිරීමකි. අනෙකුත් ආගම්වලට ඒ තත්වයම බල පැවැත් වෙයි. සමාන ආරක්ෂාව එයයි.

ඉහත නීති තත්වය **විජේවර්ධන එරෙහිව බුද්ධ රක්ඛිත - 59 න.නී.වා 121** පිටුවේ තීන්දුවේ දක්වෙයි. මේ අනුව රාජාඥාව පුද්ගලික මට්ටමින් පවත්වා ගෙන යන ආයතන හැටියට පන්සල් හෝ ආගමික ආයතන හඳුන්වා නැතත්, බොහෝ පුණ්‍යාතන, තරුණ සමිති ආදිය සංස්ථාපිත තත්වයෙන් නීතිගත කොට තිබේ. ඒ තීන්දුව ප්‍රිවි කවුන්සලයේදී අනුමත වූයේ 62 න.නි.වා. 49 පිටුවේ දක්වෙන ආකාරයට ය.

තීන්දු වෙනස් කිරීමේ බලතල උසස් අධිකරණවලට මෙන්ම, ව්‍යවස්ථාදායකට ද හැකිය. (Legislature) ඒ අනුව, **ඕමාරේ ධම්පාල එරෙහිව අර්. පීරිස් - 2004 I එස්.එල්.ආර් I** තීන්දුව, වෙනස් මතයක් ගෙන ඇත, දේපළ ලබා ගැනීම, පරිභෝජනය කිරීම අන්සතු කිරීමාදී, පරම බලතල හුදෙකලාව පන්සලකට ඇත. උඩරට ගිවිසුම කාලයේ පවා පැවති අස්ගිරි, මල්වතු ආයතන පුද්ගලික මට්ටමින් වුවද ජාතික ප්‍රශ්නවලදී කරන මැදිහත් වීම් කොතරම් බලවත් ආවේගශීලි ද? රාජ්‍ය බලයට කොතරම් අභියෝගයක් ද? නමුත් ඊට පටහැනි තීරණයක් ගැනීමේදී බොහෝ අය දෙවරක් සිතා බලන බව නොරහසකි. නැත්තේ ස්වීය තත්වයයි. ඇත්තේ ප්‍රශ්න නොකළ හැකි තරම් වූ බලයකි.

අවශ්‍ය පරිදි, තත්වය වෙනස් කිරීමට බලතල ව්‍යවස්ථාදායකයට ඇත. නමුත් රජයක් තුළ තවත් බලවත් රාජ්‍යයන් ඇති කිරීම පීතෘත්වයට අභියෝගයකි. හැරත්, ආගම හුදෙක් පුද්ගලයාගේ විශ්වාසය නම් එයට ඇඟිලි එබීමේ අයිතියක් කිසිවෙකුට තිබිය යුතු නැත.

මේ සියල්ල මාතෘකාවෙන් බැහැර දේ වුවද, කතරගම දේවාලයෙහි බස්නායක නිලමේ පිළිබඳව වූ හා ඊට අදාළවූ 1992 අංක 3 දරණ සංශෝධනය නිසා මූලික අයිතිවාසිකම් කිසිවෙකුගේ හෝ උල්ලංඝනය වී දැයි සෙවිය යුතුය.

මේ රාජාඥාව වාර ගණනාවකදී සංශෝධනය වූ බව නොරහසකි. ඒ සියල්ල ආගමක් මුල් බැසගත් පරිසරයක් තුළ වුවද පාර්ලිමේන්තුවේ සාමාන්‍ය වැඩි ඡන්දවලින් සම්මත කෙරුණි. මූලික අයිතියක් ලෙස ආගම විශ්වාස කොට ඇදහුවත්, පන්සල හෝ දේවාලය ආගම නොවේ.

1980 අංක 22 දරණ සංශෝධනය මගින් භාර කරුවකුගේ (Trustee) සුදුසුකම් කියැවිණ. එය සංශෝධනය වූයේ මෙම 1992 අංක 3 දරණ පණතිනි.

ඒ මගින් 14 වන වගන්තියේ (ඊ) (e) උප වගන්තිය (ඊ.ඊ) (e.e) ලෙස අලුත් ආදේශකයක් එකතු විය. එනම්, "ඔහු පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකු, පළාත් සභා මන්ත්‍රීවරයෙකු හෝ පළාත් පාලන ආයතනයක මන්ත්‍රීවරයෙකු ලෙස තෝරා පත් කරගතහොත්" යනුවෙනි.

සංශෝධනයට භාජනය වූයේ 1980 අංක 22 දරන පණතේ 2 වැනි ඡේදයයි. ඒ මගින් එතෙක් තිබූ 14 වැනි වගන්තිය සංශෝධනය කෙරිණ. ඒ මෙසේ ය, 2 වගන්තිය 4 වගන්තිය ආදේශ කරමින් සංශෝධනය විය.

2 (I) "කිසිවකු හෝ පත් නොකළ යුතු අතර, හෝ එසේ පත් කළහොත්, භාරකරුවකු ලෙස කටයුතු නොකළ යුතුය" වෙනුවට "කිසිවකු හෝ භාරකරුවකු ලෙස තෝරා පත් කර ගැනීමට හෝ පත් කිරීමට නුසුදුසු වන අතර, එසේ තෝරා පත් කර ගතහොත් හෝ පත් කර ගතහොත්...." සහ

(2) 'බී' (b) උප වගන්තියට පසුව (බීබී bb) ලෙස අලුත් වගන්තිය ඇතුළත් කිරීමෙන් ;-

(බීබී) කිසියම් ලිඛිත නීතියක් මගින්, කිසියම් වෘත්තියක යෙදී සිටින්නේ නම් හෝ එසේ වෙළඳාමක, රැකියාවක නියැලී සිටින්නේනම් ඔහු නුසුදුස්සෙකු වේ."

(3) මෙම 2 වැනි වගන්තිය මගින් මුල් පණතට කරනු ලබන සංශෝධන සියලුම කාර්යයන් සඳහා මුල් පණත පැනවූ දිනය සහ එය බලපැවැත් වූ දිනය දක්වා දිගු වෙයි. (1931)

(4) මෙම ක්‍රියාත්මක පණත සංශෝධනය නිසා, කිසිවෙකු විසින් පණත යටතේ කරන ලද ක්‍රියාවන් අනීත්‍යානුකූල නොවේ.

පූර්ව කාලයටම බලපවත්වන පරිදි සකස් වූ මේ නීතිය වෘත්තියේ එනම් භාරකරුවෙකුගේ අවංක භාවය, සුරක්ෂිත භාවය, කාර්යක්ෂම භාවය රැකීමට ඉවහල් වන ලදී.

නමුත් 1992 අංක 3 පණතින් ඒ තත්වය අහෝසි වූ අතර, රුහුණු කතරගම දේවාලයේ භාරකාරත්වයට පමණක් ඒ පණත ක්‍රියාත්මක වීම සීමා වීම ද වැදගත්ය.

ඊට අනුකූල වූ, ජනාධිපතිවරයා විසින් නිකුත් කරන ලද **2009.08.14** දින අංක **1614/30** ගැසට් පත්‍රය ද වැදගත්ය. ඒ මගින්

පණතේ 14 වගන්තිය තුළ (සීසී) (CC) වගන්ති ක්‍රියාත්මක වීම නිදහස් කරන්නේ යැයි එහි දැක්වෙයි. ඒත් පණතේ 3 වැනි වගන්තිය යටතේ ඇති බලතල පරිදි ය.

ඒ සමගම 2013 මාර්තු 15 වැනි දින අංක 1801/39 ගැසට් පත්‍රය මගින්, එවකට බුද්ධ ශාසන ඇමති ලෙස කටයුතු කළ ඩී.එම්. ජයරත්න, රුහුණු මහා කතරගම දේවාලය, "කෙසේ වෙතත් එම මුළු කාලය අවුරුදු දෙකක් නො ඉක්ම" විය යුතුය, යන්න ක්‍රියාත්මක වීමෙන් නිදහස් වන්නේය. ඒ පණතේ 12 වගන්තියේ බී (b) වගන්තියේ අතුරු විධානයයි.

නැවතත් 2015 මාර්තු 10 වැනි දින බුද්ධ සාසන ඇමති කරු ජයසූරිය විසින් පණතේ 3 වන ඡේදය පරිදි නියෝගයක් නිකුත් කරමින් ඉහත සඳහන් ගැසට් නිවේදන සියල්ල අවලංගු කොට ඇත.

කොතරම් දිග ඉතිහාසයක්ද? පණතේ 3 වැනි ඡේදය තුළ කොතරම් බලයක් ඇමතිවරයෙකුට ඇද්ද? කෙසේ වෙතත් භෞතික සම්පත්වලට පමණක් සීමාවූ පන්සල්, විහාර ගොඩනැගිලි "බුද්ධාගමට" අන්තර්ගත නොවන නිසා මූලික අයිතීන් කඩවීමේ අවස්ථාවක් දැකිය නොහැකිය. 1931 පණත හුදු පණතක් පමණි. එය සහ ආණ්ඩු ක්‍රම ව්‍යවස්ථාව අතර පරතරය අහසට පොළොව මෙනි.

හැරත් 3 වන වගන්තියේ අතුරු විධානය ඇමතිවරයාට "අභිමතය" පවරයි. දළදා මාලිගාව, ශ්‍රී පාද ස්ථානය, අටමස්ථානය අත නොතැබිය හැකි තැන් වෙතත්, අභිමතය පාවිච්චි කිරීමේදී සද්භාවය වැදගත් ය.

'පන්සල' යන්න ද විශේෂ ස්ථාන ඇතුළු කොට 'හෝ' (or) වචනය යොදා බෞද්ධ වැඳුම් පිදුම් ස්ථාන ලෙස නම් කිරීම වැදගත්ය. අනෙක් අතට, කිසිවෙකු හෝ එවැනි මූලික අයිතිවාසිකම් 'ආගම' පිළිබඳව ඉහත කරුණු පරිදි, 1931 පණත අභියෝගයට ලක් කරන්නේ නම් නීතිමය බාධාවක් ඇත.

එකක් නම්, යම් නීතියක් නීති ගත වූ පසු අධිකරණයක අභියෝගයට ලක් කළ නොහැකි වීමයි. කෙටුම්පත පාර්ලිමේන්තුවට ඉදිරිපත් කොට සති දෙකක් තුළ එසේ ශ්‍රේෂ්ඨාධිකරණයට යා යුතු වීමයි. එවැන්නක් ප්‍රායෝගිකව කළ හැකි අවස්ථාවන් විරල ය. මෙසේ කාලය තුළ ඉදිරිපත් නොවූ කෙටුම්පත් නීති ගතවූ අවස්ථා ඇත.

දෙවනුව, ව්‍යවස්ථාවේ 16 වැනි වගන්තිය බාධාවකි. 16(l) මෙසේ දක්වයි.

"පවත්නා ලිඛිත නීති සහ ලිඛිත නොවූ නීති අතුරෙන් යම් කිසි ලිඛිත නීතියක් හෝ ලිඛිත නොවූ නීතියක්, මේ පරිච්ඡේදයේ (V) මෙයට ඉහතින් ඇති ප්‍රතිපාදනවලට අනුකූල නොවූවද, එකී පවත්නා සියලු ලිඛිත නීති සහ ලිඛිත නොවූ නීති බලාත්මකව ක්‍රියාත්මක වන්නේය.

16 (2) කවරවූ හෝ පවත්නා ලිඛිත නීතියකින් දඬුවමක් ලෙස පිළිගනු ලැබූ කවර වූ හෝ ආකාරයක දඬුවමකට කවර වූ හෝ තැනැත්තකු නිසි අධිකරණයක ආඥාව පිට යටත් කිරීම මේ පරිච්ඡේදයේ විධි විධාන කඩ කිරීමක් නොවන්නේය"

ඊළඟට, තෙවනුව කොතෙකුත් එවැනි නීති පොතෙහි ඇතත්, ඒ කිසිවක් උල්ලංඝනය නොවන්නේය.

ව්‍යවස්ථාව 1978 සිට ක්‍රියාත්මක වේ. 1931 වන විට, මූලික අයිතිවාසිකම් පිළිබඳව පිළිගැනීමක් නොවූ අතර, 1931 ඒ අයුරින්ම ක්‍රියාත්මක වේ.

මේ තත්වය සියලු ආගම් කෙරෙහි බලපවත්වන බවද සැලකිය යුතුය. මෙතෙක් එවැනි අභියෝගයක් නොවූ බැවින්, ඉදිරියේදී එසේ නොවනු ඇතැයි විශ්වාස කළ හැකිය.

# තෙවැනි පිවිසුම - 03 - විහාරාධිපති තනතුර

පෙර පිවිසුම මගින් පන්සල, භාරකරු, විහාරාධිපති ගැන කෙටියෙන් කරුණු සඳහන් වුවද, 3 වැනි වගන්තිය හා අතුරු විධානය මගින් බලතල පරිහරණය ගැන කීවද, මෙය පෙනෙන තරම් සරල බවේ පණතක් නොවේ.

භාරකරු හා විහාරාධිපති අර්ථ නිරූපණයේ නාමික වශයෙන් හැඳින්වුවද, ඒ බලතල විකාශනය වීම පසු වගන්තිවල දක්වෙයි.

මුලින්ම විහාරාධිපති යනු කවරෙක්ද? එම තනතුර කෙසේ ලැබෙන්නේද? බලතල අයිතීන් කෙබඳුද? අනුප්‍රාප්තිය කෙසේද? යන කරුණු සැලකිල්ලට ගත යුතුය. මේ පිළිබඳව විවිධ මත ප්‍රකාශ වූ නඩු තීන්දු ගණනාවක් ඇත. සංකීර්ණත්වය ගැන මීට පෙර සඳහන් කළේ එබැවිනි.

අර්ථ නිරූපණයේ 'විහාරධිපති' දක්වෙන්නේ පදිංචි හෝ එසේ නොවන, දේවාලයක හෝ කෝවිලක නොවන, පන්සලක ප්‍රධාන භික්ෂුවයි. පන්සලකට කෝවිලක් සහ දේවාලයක් ඇතුළත් වෙතත්, ඒවායෙහි භික්ෂූන් නැති බැව් පෙනේ. හැරත් පන්සලට අදහස් කරන දෑ ඇතුළත් කොට, වඩාත් පුළුල් අරුතක් ලැබෙන පරිදි, බෞද්ධ වැඳුම් පිදුම්වලට පාවිච්චි කරන ස්ථානයක් යනුවෙන්ද "හෝ" වචනය යෙදීමෙන් පැහැදිලි වේ. ඊළඟට ස්ථාන තුනක් ඇතුළත් කරමින් (includes) යන වචනය භාවිත කොට ඇත.

ඒ අනුව බෞද්ධ වැඳුම් පිදුම් ස්ථාන වෙනමත්, පන්සලකට අයත් ස්ථාන වෙනමත් සඳහන් කිරීම තුළින්, කෝවිල, දේවාලය, දාගැබ, ආවාසය ආදී තැන් වෙනම දක්වෙයි.

නඩුතීන්දු වලද නිවැරදිව දක්වා ඇති පරිදි, බෞද්ධ වැඳුම් පිදුම් ස්ථානවලට ඕනෑම තැනක් අයත්වේ. එය පුළුල් දක්මකි. රොමානිස් ප්‍රනාන්දු එරෙහිව විමලසිරි හිමි (53 න.නි.වා 245) පිටුවේ තීන්දුව වැදගත්ය. කිසියම් ආකාරයක වැඳුම් පිදුම්වලට භාජනය වන

කොටසකින් සහ වෙනත් පුණ්‍ය කටයුතු සඳහා වෙන් කළ ස්ථානයකින් යම් පන්සල් භූමියක් සැකසී ඇත්නම්, ඒ හේතුව නිසා, එය මෙම පණතේ විධි විධානවලට ඇතුළත් වේදැයි සිතිය හැකිය. සැබවින්ම, සෙසු කොටස අධ්‍යාපනය සඳහා වෙන් වූ කොටසක් විය හැකිය. බෞද්ධ වැඳුම් පිදුම් අනෙක් කොටසේ සිදුවේ. කොටස් දෙකම කාර්යයන් දෙකක් සඳහා ප්‍රයෝජනයට ගනු ලබන බව එයින් පැහැදිලි වේ. එසේනම් මුළු ස්ථානයේ ස්වභාවය පරිදි, නඩු තීන්දුවක් පන්සල සහ වචනය ඉවහල් කොට, ඊට පක්ෂව ලබා ගත නොහැක. සාංඝික කිරීම හෝ පූජා කිරීමේ අරමුණ කෙසේ වෙතත්, එබැවින් මුළු වට පිටාවම ඇසුරු කොට ලබා දිය හැකි තීන්දුව, ස්ථාන දෙකක් ලෙස පවත්වා ගෙන යාමෙන් වැඳුම් පිදුම් සඳහා එක් කොටසක් පමණක් වෙන් කිරීමෙන් ස්වභාවය වෙනස් බවයි. ධම්මානන්ද එරෙහිව පියරත්න තෙරුන් නඩුව - 59 න.නී.වා 412 තීන්දුව මෙහි දී අදාළ වේ.

කිසියම්, එසේ වැඳුම් පිදුම් කළ ස්ථානයක් කොතෙක් කලක් අතහැර තිබුණත්, ඉදහිට හෝ වැඳුම් පිදුම්වලට භාජන වූයේ නම්, ස්වභාවයේ වෙනසක් වුවද, පණත තුළට ගැනේ. බොහෝවිට උසාවිවල නඩු නිමිති වනුයේ මෙවැනි සංකීර්ණ කරුණු ඇතුළත් ආරවුල්ය. යම් තැනක වැඳුම් පිදුම් සඳහා බුදු පිළිම, මල් ආසන ආදිය තිබී, තව කොටසක් බලහත්කාරයෙන් වෙනත් කටයුතු සඳහා යොද ගැනීමෙන්ද, දේපළෙහි ආගමික ස්වරූපය වෙනස් නොවේ. මෙහිදී මුළු පෙදෙසම සාධක අනුව පණත යටතට ගැනේදැයි සෙවිය යුතුය.

මේ සියල්ලම පිටුපස 'පන්සල්' යනු නෛතික පුද්ගලයෙකු නොව, හුදෙක් එක් ආයතනයක් බව සිහි තබා ගත යුතුය.

## (ආ) විහාරාධිපති යනු කවරෙක්ද? අනුප්‍රාප්තිය සහ දේපළ

1931 අංක 19 පණතට අනුව (එහි අර්ථ කථනය) විහාරාධිපති යනු පන්සලක ප්‍රධාන භික්ෂුවයි. එහෙත් දේවාලයක හෝ කෝවිලක නොවේ. වාසික හෝ නොවන කෙනෙකු ද ප්‍රධාන භික්ෂුව ලෙස සැලකෙයි. උපසම්පදා හෝ සාමණේර ද විය හැකිය. සරල අර්ථයකි. එහෙත් තත්වය වරින් වර ප්‍රකාශිත නඩු තීන්දු අනුව, ඊට වඩා ගැඹුරු වනුයේ, ඒ ඒ නඩුවල කරුණු අනුවය. එය එදත්, අදත් අනාගතයේදීත් එසේම වනු ඇත. ප්‍රශ්න සංකීර්ණ වනුයේ කාලය ද සමග ය.

නඩු තීන්දු කිහිපයක් මෙහිලා දක්වීම උචිත ය. කඹුරුගමුව පියනන්ද තෙරුන් එරෙහිව උයන්ගොඩ සුමනජෝති තෙරුන් - 66

න.නී.වා 178 පිටුවේ තීන්දුවට පරිදි, පැමිණිලිකරු පන්සලක විහාරාධිපති ලෙස ප්‍රකාශයක් ඉල්ලමින් නඩු පැවරුවේය. ඔහු කියා සිටියේ එම පංසලේ විහාරාධිපති පදවිය ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා නීතිය අනුව සිදු නොවන අතර, එහි සිරිත අනුව උපසම්දා වූ ජ්‍යෙෂඨත්වය පරිදි එක් එක් භික්ෂු පරම්පරාවට විහාරාධිපති පදවිය ලැබුණු බවයි.

ශාක්ෂි අනුව, මුල් විහාරාධිපති 1839.07.26 වැනි දින අන්තිම කැමති පත්‍රයක් මගින්, තම සියලු ගෝල භික්ෂූන් සමානව බෙදාගත යුතු අතර, තම මරණයෙන් පසුව, ජ්‍යෙෂ්ඨත්වය පරිදි සියල්ලන් විහාරාධිපති ලෙස පිළිවෙළින් කටයුතු කළ යුතු බැව් දක්වීය. සමහර සැක කටයුතු ලේඛන මගින් පැමිණිලිකරු බලාපොරොත්තු වූ පරිදි අනුප්‍රාප්තිය සිදු නොවූ බව පෙනිණ. ඒ අනුව, තීන්දු වූයේ, මුල් ගෝලයන් ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතියට පටහැනි නොවන පරිදි විහාරාධිපති වරුන් වූ බවයි. එපමණක් නොව, මේ රීතියම අනුකූල නොවන කවර හෝ පිළිවෙතක් ව්‍යතිරේක වන අතර එවැන්නක් ඇතැයි දක්වන තැනැත්තා ඒ බව ඔප්පු කළ යුතු බවද, පන්සලක හෝ විහාරයක අනුප්‍රාප්තිය ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතිය බවට පූර්ව නිගමනයක් ඇති බවයි. - 65 න.නී.වා 388, 29, න.නී.වා 398, 29 න.නී.වා. 415, 32 න.නී.වා, 271, 26 න.නී.වා. 257 සලකා බලා ඇති අතර, අභියාචනය නිෂ්ප්‍රභා කරන ලදී. මේ තීන්දුවෙන් හෙළි වන ප්‍රධාන කරුණු අතර, ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතිය, බලපැවැත්වෙන පිළිගත් රීතියක් බවට පූර්ව නිගමනයක් තිබීම සහ අන්තිම කැමැත්තෙන් බාහිරව කටයුතු කිරීමෙන් පැවති තත්වය ව්‍යාකූල වූ බවයි. පරිබාහිර වූ රීතියක් ඇත්නම්, එය එසේ යැයි දක්වන පාර්ශවය විසින් ඔප්පු කළ යුතුය. අනෙක එතරම් පැරණි කාලයක පටන් මේ නීතිය පිළිගත් තත්වයකට පත්ව තිබූ බවද පැහැදිලිය. පිළිවෙළින් එකිනෙකා බෙදා ගෙන කටයුතු කළත්, ඒ ජ්‍යෙෂ්ඨත්වය අනුව බවද පෙනීයයි.

විහාරාධිපතිතත්වයට පත්වීම, සහ මුල් පැවරීමේ ඒ තත්වය හෙළිදරව් නොවීම, එවිට අනුගමනය කළ යුතු පිළිවෙත, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අළලා දෙන ලද තීන්දුවක් ඇත. ඔකඳයායේ වංගීස තෙරුන් එරෙහිව මුල්ගිරිගල සුනන්ද තෙරුන් - 65 න.නී.වා. 388 පිටුව.

මේ මුල්ගිරිගල රජ මහා විහාරයේ විහාරාධිපතිත්වය පිළිබඳව අභියාචක සහ වගඋත්තරකරු අතර වූ හබයකි. පැරණි බවත්, ලේඛන

නොමැති වීමත් අදාළ වූයේ, මුල් පැවරීමේ කොන්දේසි අනුප්‍රාප්තිය පිළිබඳව කළ සඳහන් සොයා ගත නොවූ බැවිනි.

එවැනි අවස්ථාවක කළ යුතු දේ තීන්දුවේ දක්වෙන්නේ මෙසේය. එවිට මුල් විහාරාධිපති මරණය සහ ඉන් පසුව අනුප්‍රාප්තිය වූ බවම සහ ඒ කෙසේදැයි පවතින ශාක්ෂි සෙවිය යුතුය. ඒ අනුව, ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය කිසිසේත්ම බලනොපෑ බව පැහැදිලිය. පාරම්පරික සහ චාරිත්‍රානුකූල පත් කිරීමේ ක්‍රමය, මුල්ගිරිගල පරම්පරාව අතර තිබූ බවට මහා සංඝ සභාවේ පත් කිරීම කළ යුතු බව සහ එහිදී ඔහු අවසාන විහාරාධිපති තෝරා පත් කළේදැයි යන කරුණ නොසැලකිය යුතු බවද තීරණය විය.

වෙනත් ආකාරයකින් පැහැදිලි කරතොත්, ආරවුල වූයේ, විහාරාධිපති පත් කිරීම මහා සංඝ සභාව විසින් කළ යුතුද, නොඑසේ නම්, අවසාන විහාරාධිපති ශිෂ්‍ය අනුප්‍රාප්තිකයින් අතරින් තෝරා ගත්තේද, ඒ තත්වය පිළිගෙන ස්ථිර කළේද යන්නයි. අභියාචනය නිෂ්ප්‍රභා විය. 22 න.නී.වා 318, 26 න.නී.වා. 274 සැලකිල්ලට ගෙන ඇත.

ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අනුව, ගෝල නම විසින් ගුරු නම අතහැර යාම මෙන්ම පන්සල සහ විහාරාධිපතිත්වය අතහැරීම ගැන කියැවෙන තීන්දුවකි, **උපනන්ද තෙරුන් එදිරිව සෝභිත තෙරුන් - 65 න.නී.වා 459 පිටුව,**

1951 ජූලි 7 වැනි දින පාලක විහාරාධිපති තමන් පන්සල් දෙකක විහාරාධිපතිත්වය දරමින්, 1 වැනි පැමිණිලිකරු තම ගෝල නම ලෙස සිවුරු පැලඳ විය. කුඩා දරුවකු වූ ඔහු පැවිද්ද ලැබූ වහාම පන්සල් දෙකමත්, ගුරු නමත් අතහැර ඇත. ගුරු නම මේ බව මහා නායක තෙරුන්ට පැමිණිලි කළ පසු 1 වැනි පැමිණිලිකරුගේ සිවුරු ගැන්වීමට උපකාර කළ භික්ෂුවගෙන් වාර්තාවක් කැඳවීය. වාර්තාවට අනුව, ගුරු නම විසින් සිවුරු හැරයාම පිළිබඳව විරෝධයක් නැතැයි පැහැදිලි විය. රෙජිස්ට්‍රාර් ජනරාල්වරයාට මහානායක තෙරුන් දන්වූ පසු, "ශිෂ්‍යභාවය අවලංගු කරන ලදී" යනුවෙන් සටහන් කැරිණ. 1955 අගෝස්තු 11 වැනි දින ගුරු භික්ෂුව අපවත් විය. එවිට 1 වන පැමිණිලිකරු තම ළඟම මිතුරා මගින් (next friend) එනම් 2 වන පැමිණිලිකරු සහ මෙහි විත්තිකරු විසින් පන්සල් දෙකේ විහාරාධිපතිත්වය ඉල්ලමින් නඩු පවරනු ලැබීය.

අභියාචනා තීන්දුව වූයේ, ගුරු නමට එරෙහිව ඔහු අතහැර යාමෙන් ගුරුනම ඇවෑමෙන් අනුප්‍රාප්තියක් නොලැබිය හැකි බවයි. එසේම සංඝ සභාව විසින් පරීක්ෂණයක් පැවැත්වීමේ අවශ්‍යතාවක් නැති බවද තීන්දු විය.

මෙය ඉතා වැදගත් තීන්දුවක් ලෙස සැලකිය හැකි කරුණු තවත් ඇත.

ධම්මරතන උන්නාන්සේ එදිරිව සුමංගල උන්නාන්සේ - 41 න.නී.වා 235 තීන්දුවට අනුව "විශේෂඥ ශාක්ෂි තීරණාත්මකව දක්වන්නේ, ශිෂ්‍ය අනුප්‍රාප්තිය තම ගුරු භික්ෂුව සහ පන්සලද විහාරාධිපතිත්වය ද අත්හළ විට, ශිෂ්‍යානුශිෂ්‍ය අනුප්‍රාප්ති අයිතිය අහෝසි වන බවයි" තවදුරටත් හේලිගේ "සිංහළ නීතිය සහ සිරිත්" පොතේ 557 පිටුවේ ධමමරතන උන්නාන්සේ එ. සුමංගල උන්නාන්සේ - 14 න.නී.වා 400 තීන්දුව දක්වා ඇත්තේ, ශිෂ්‍යයකු ගුරු නම අතහැර ගිය විට තම අයිතින් අහෝසි කර ගනියි." යනුවෙනි.

මේ තීන්දුවේද කාලීන වැදගත් බවක් ඇත. හේලි මෙන්ම ඉංග්‍රිසි ජාතික විනිසුරුවරයෙකු වූ වුඩ් රෙන්ටන්, බෞද්ධාගමට අදාළ ප්‍රශ්නයක් නිරාකරණය කළ ආකාරය එකකි. අනෙක, 1931 ට පෙරාතුව බෞද්ධාගමට හා විහාර දේපළවලට සම්බන්ධ ආරවුල්වලදී සිංහල නීති, සිරිත් විරිත් පිළිබඳව තිබූ විශේෂඥ දැනීමයි.

ඊටත් වඩා, විනයෙහි දැක්වෙන "අන්තේවාසික" යනු අත ළඟම සිටින ගෝලයෙකි. ඔහුට වෙනත් තැනෙක සිට උපදෙස් ලබා ගත යුතු නම්, ගුරු නමගේ අනුමැතියෙන් එසේ කළ හැකිය. ඔහුගේ බාල වයස නිදහසට කරුණක් නොවේ. කැමැත්තෙන් ලබා ගන්නා වූ තත්වයක්, කැමැත්තෙන් අත්හළ හැකිය. අභියාචනය නිෂ්ප්‍රභා විය.

වර්තමානයෙහි ද මෙවැනි උදාහරණ සුලභව ඇත. ප්‍රායෝගික වැදගත් බව ඇත්තේ එහිය.

අනුප්‍රාප්තිකයෙකු පත් වේද, නොඑසේ නම් පත් කරන්නේද ඒ කෙසේද යන ප්‍රශ්නය බොහෝ අවස්ථාවලදී පැන නැගී ඇත. මේ පිළිබඳව, සෝමරතන තෙරුන් එදිරිව පඤ්ඤාලෝක තෙරුන් 1987 - 1 එස්.එල්.ආර් 225 පිටුවේ තීන්දුව දැක්විය හැකිය. "නාමික නම් කිරීමක් (Oral Nomination)" ප්‍රමාණවත් වෙතත්, එය සනාථ කිරීම සඳහා වෙනත් සාක්ෂි තිබීම වඩාත් ප්‍රවේශම් කාරී වනු ඇත. කවර වූ හෝ

පත් කිරීමකදී, එහි නීතිමය ප්‍රතිඵලය සැලකීමේදී පැහැදිලිව අවබෝධ කරගත හැකි කොන්දේසි තිබීමෙන් ප්‍රතිඵලයේ සාර්ථක භාවය මිනිය හැකිය. පවත්නා ශාක්ෂි පැහැදිලි විය යුතුය. නිශ්චිත විය යුතුය. ලිඛිත ලියවිල්ලක මෙන් පෙනීමට තිබිය යුතුය. එවිට එහි කර්තෘගේ චේතනාව දැන ගත හැකිය. එසේ නොවූ විට, එම අවශ්‍යතාව බැහැර කළා විය හැකිය. එහි අර්ථකථනය සම්පූර්ණයෙන්ම නීති ප්‍රශ්නයකි. එය අධිකරණ ක්‍රියාවලියට අයත්ය. නඩුවේ අවශ්‍යතාවලට අනුකූල නොවූ පත්කිරීම් ගැන කථාව හුදෙක් අවශ්‍යතා මගහැරීමකි.

1 සිට 4 දක්වා විත්තිකරුවන්ගේ නඩුවේ කරුණු අනුව හැසිරීම, අපහාසාත්මක ය. පැමිණිලිකරුගේ අයිතිය ගැන ඔවුන්ගේ අභියෝගයන් අපහාසාත්මක වන අතර, ඔවුන් පන්සලෙන් පිටමං කිරීම සුදුසුය" මෙහිදී පෙර තීන්දු ගණනාවක් සැලකිල්ලට ගෙන ඇත. වාචික පත් කිරීම ප්‍රමාණවත්ද පමණක් නොව, විහාරාධිපති නාමික ද, නීත්‍යානුකූල ද යනු තීරණය වී ඇත.

කෙනෙකු විහාරාධිපති ලෙස පන්සලක සියලු කටයුතුවල නිරත වන අතර, මහජනතාව ඒ තත්වය පිළිගෙන ඇත. එහෙත් භාරකරුවන් ගැන බලද්දී සැබෑ සහ නීත්‍යානුකූල යන වචන සැලකිල්ලට ගෙන ඇත. (de facto, de jure) ඒ සෝභිත තෙරුන් එදිරිව රත්නපාල තෙරුන් - 1861 බෙවන් සහ සිබෙල්ස් වාර්තා 32, නඩුවේ දීය.

"කිසියම් පන්සලක විහාරාධිපති ලෙස කරුණුමය හෝ සැබෑ ලෙස කෙනෙකු සැලකිය හැකිය. එහෙත් ඒ තත්වය අභියෝග කරන අය අතරේ ප්‍රමුඛතාවක් දරනවිට පමණි එසේ කළ හැකි වන්නේ. නමුත් නීත්‍යානුකූල විහාරාධිපති (de jure) ඒ තත්වය සඳහා මැදිහත් වන්නේ නැත."

මේ තත්වය 1931 ට පෙරදීත් පිළිගෙන තිබේ. පසුව - 56 න.නි.වා. 413 සහ 59 න.නි.වා 289 තත්වය එසේ බව පිළිගෙන ඇත. පිළිවෙළින් පේමානන්ද තෙරුන් එදිරිව තෝමස් පෙරේරා සහ අමරසිංහ තෙරුන් එදිරිව සාසනතිලක තෙරුන් නඩු තීන්දු දක්වා තිබේ.

"1931 පණතේ 'විහාරාධිපති' අර්ථ කථනයට අනුව "ප්‍රධාන භික්ෂුව" "නිවැසි හෝ නොවැසි" එක් පන්සලකට වඩා කිහිපයක විය හැකිය" යන වචනවලින් විශාල වෙනසක් සිදුව ඇත. 1905 රාජාඥාවේ 20 වගන්තිය පරිදි සියලු පන්සල් දේපළ භාරකරුවන්ට පැවරිණ.

සද්ධාතිස්ස තෙරුන් 1953 මියයන විට කිසිවක් සිදු නොවීය. පත් කළේ 1929 දී යැයි කියන ලදී. සද්ධාතිස්ස තෙරුන් සැබෑ විහාරාධිපති ලෙස සිටිද්දී සුමනතිස්ස තෙරුන් ධම්මාරාමය පන්සලේ නීත්‍යානුකූල විහාරාධිපති (de jure) ලෙස සිටියේය. 1929 සහ 1953 අතර කිසිවක් සිදු නොවීය. 1931 පණතින් 'විහාරාධිපති' ලෙස ප්‍රධානියා හැඳින්වූ අතර, පදිංචිව සිටින භික්ෂුව 'අධිකාරී' ලෙස කටයුතු කිරීම විහාරාධිපතිගේ නියෝජිතයෙකු ලෙසට යැයි පංච පුද්ගල විනිශ්චයකදී සමරකෝන් අග විනිසුරු ප්‍රකාශ කොට ඇත.

පණතේ 4 (1) හෝ 4 (2) පරිදි දේපළ පාලනය විහාරධිපතිට පැවරෙයි. 4(1) යටතේ නම් විහාරාධිපති පත් කරන භාරකරුට පැවරෙයි. 10(1) නමුත් 11(1) පරිදි තමා විසින්ම භාරකරු ලෙස පත් කර ගත හැකිය. මෙහිදී විහාරාධිපති සහ භාරකරු දෙදෙනාම එකෙකි. එවිට පාලක විහාරාධිපති (Controlling Viharadhipathi) ලෙස හැඳින්වෙන්නේ 4(2) පරිදි ඔහු නොවේ. 1929 සිට අවුරුදු 25 ක කාලය නිහැඬියාව වැදගත්ය." මීට අමතරව ශාක්ෂි විශ්ලේෂණයක් සිදුව ඇතත්, වාචික පත්වීමකදී, අමතර සනාථ කිරීමේ ශාක්ෂිවල අවශ්‍යතාව පැහැදිලිව දක්වා ඇත.

පණතේ ඉතිහාසය මෙන්ම සංශෝධිත 1931 මුළු පණත ගැඹුරින් විග්‍රහ කළ තීන්දුවක් ලෙස මෙය සැලකිය හැකිය. දිසා විනිසුරු තීන්දුව ඉවත් කොට ආදේශිත පැමිණිලිකාර අභියාචකගේ වාසියට තීන්දු කරන ලදී. වාචික පත්කිරීම් තවමත් සිදු වේ. කාලීන ප්‍රශ්නයක් හැටියට මෙය වැදගත්ය.

**මේ ආකාරයටම, අන්තිම කැමති පත්‍ර මගින් (last - will) විහාරාධිපති පත් කිරීමේදී සිදුවෙයි. එයට අදාළ තීන්දුවක් වන්නේ, රතනජෝති තෙරුන් එදිරිව සෝමරතන තෙරුන් - 1987, එස්.එල්.ආර් 151, පිටුවේ සඳහන් නඩුවයි.**

"ප්‍රෙබේට්වලට භාජනය නොවූ අන්තිම කැමති පත්‍රයක් ලෙස හැඳින් වූ ලේඛනයක්, විහාරාධිපති පත් කිරීමේදී අනුප්‍රාප්තිකයෙකු ලෙස දක් වීම, අධිකරණය සෑහීමකට පත් වන පරිදි, වංචා වැලැක්වීමේ ආඥා පණතේ 9 වැනි ජේදයට අනුකූල නොවන බව ඔප්පු විය යුතුය." එහිදී, වෙනස් ආකාරයකින් ලියවිල්ලක් සැලකිල්ලට භාජනය වූ බවට තීන්දුවක් උපුටා දක්වා තිබේ.

කෙසේ වෙතත්, විහාරාධිපති කෙනෙකු පත් කිරීමේදී අසුවල් ක්‍රම වේදයක් අනුගමනය කළ යුතුයැයි නියමයක් නැත. - (1938) 40 න.නී.වා 262 සහ (1937) 39 න.නී.වා 430 පිටුවල තීන්දු දැක්විණ.

නමුත් (1930) 32 න.නී.වා 241 පිටුවේ ඉංග්‍රීසි විනිසුරුවරයෙකුගේ තීන්දුව පරිදි නිසි පරිදි සකස් වූ තෙස්තමේන්තුවක් පිළිගත හැකි බවට වූ තීන්දුව සඳහන් කරමින්, වඩාත් සුදුසු වන්නේ අගවිනිසුරුවරයෙකු වූ බස්නායකගේ තීන්දුව බව දැක්විණ.

එනම්, ධම්මවිසුද්ධි තෙරුන් එරෙහිව ධම්මදස්සී - (1955) 57 න.නී.වා. 469, 480 තීන්දුව පරිදි,

"සංඝයා වහන්සේලා පිළිබඳව, ලෞකික කරුණු සොයන අධිකරණයන් විනයෙහි (Vinaya) දක්වෙන පසුබිම සැලකිය යුතුය. ගිහියන් ගැන මෙන් නොව භික්ෂූන් පිළිබඳ ප්‍රශ්නවලදී පරෙස්සම් විය යුතුය."

ඒ අනුව, වංචා වැලැක්වීමේ ආඥා පණතේ 9 වැනි වගන්තිය උල්ලංඝනය නොවූ බවට තීන්දු කොට, ඉදිරියට නඩුව පවත්වා ගෙන යාමට නියෝග කරන ලදී. අභියාචනයට ඉඩ හැරිණ.

වෙනත් විධියකින් දක්වන්නේ නම්, ගිහියන්ට එක් ආකාරයකින් ද විනය නීතිවලින් බැඳී සිටින භික්ෂූන්ට තවත් විධියකින් සැලකිය යුතුය යන කරුණ මෙහිදී පෙර තීන්දු අනුව තීරණය වී ඇති බැව් පෙනේ. කෙසේ වෙතත් හරය වන්නේ, අන්තිම කැමති පත්‍රය පිළිගත හැකි පත් කිරීමක් කළ හැකි ක්‍රමයක් බවයි.

අනෙක් අතට, විහාරාධිපති යනු හුදෙක් නාමික හැඳින්වීමක් නොවේ. විහාර දේපළ භාරකාරත්වය ඔහුට පැවරෙන විට, ප්‍රොබේට් බලපත්‍රය ලැබෙද්දී තනතුර නොව, දේපළ අන්තර්ගත වන නිසා පරෙස්සම වඩා යහපත් බව පෙනී යයි.

එසේම නඩුවක කරුණු මෙන්ම පෙර තීන්දුවල බලපෑම කොතෙක්දැයි මෙයින් වටහා ගත හැකිය.

තවත් තීන්දුවකින් විහාර, පන්සල් දේපළවල අයිතිය වෙනත් නීතියක් අනුව තීන්දු වූ ආකාරය පැහැදිලි කර ගත හැකිය. ඉඩම් ප්‍රතිසංස්කරණ කොමිසම එරෙහිව ගනේගම සංඝරක්ෂිත තෙරුන් - 1987.2 එස්.එල්.ආර් 411 පිටුව;

එහි ප්‍රශ්නය වූයේ, රජයේ ඉඩම් විහාර ගම් ඉඩම්ද, නොඑසේනම් 1931 පණත පරිදි සමාගමක් විසින් භාරයක් ලෙස පවත්වා ගෙන යනු ලබන ඉඩම්ද යනුවෙනි. ඉඩම් ප්‍රතිසංස්කරණ නීතියේ විධාන පරිදි ඔප්පුවක් මත සමාගමකට පවරා ඇති ඉඩම් ප්‍රතිසංස්කරණ පණත පරිදි බදු දුන් විට, ඒවායේ අයිතිය එහිදී සැලකීමට භාජනය විය. අයිතිය සහ භුක්තිය එකක්ද යනාදි කරුණු ද තීරණයට භාජනය විය. ප්‍රතිසංස්කරණ පණත පරිදි විහාරගම් ඉඩම් පණතේ ක්‍රියාකාරීත්වයෙන් ඉවත් කොට ඇත. එසේම 1931 පණත යටතේ භාරයක් ලෙස උපරිම සීමාව ඉක්මවා යන්නේදැයි සලකා බැලිණ. බැලූ බැල්මට සරල බවක් පෙනුණද විහාර දේපළ අක්කර දහස් ගණනක් ඇත. වංචා වැලැක්වීමේ ආඥා පණත කෙසේ වෙතත්, අධිකරණයන්හි මෙවැනි නඩු ඇත. මායිම්, සීමා ඔප්පු, පිඹුරු නැති ඉඩම්වල අයිතිය පන්සල් දේපළ ලෙස ඉල්ලීම් කරද්දී, ඉඩම්වල පරම්පරා ගණනාවක් පදිංචිව සිටි බව සහ අයිතිය තහවුරු කරද්දී, ඒ නඩු අවුරුදු ගණන් ඇදී යාම, සියලු පාර්ශවයන්ගේ අතෘප්තියට හේතු වෙයි. මේවා කවදා හෝ නිරාකරණය විය යුතුය. නීතිය පැහැදිලි වූත්, ප්‍රශ්නවලට නියත පිළිතුරු දිය හැකි වූත් මෙවලමක් විය යුතුය.

සන්නස් පත්‍ර ආදියෙන් විශාල ඉඩකඩම් පන්සල්වලට පූජා කොට ඇතත්, පාලනය, ආදායම් ආදී ගැටලු නැත්තේ නොවේ. නමුත් 'නඩු හබ' පැවතීම පිළියම නොවන අතර, කිසියම් තීරණයක් දීම අධිකරණයේ ද වගකීමකි. නීති තර්කවලින් සමහර ප්‍රශ්නවලට විසඳුම් ඇතත්, එවා සිද්ධිමය වශයෙන් ගත් කල සෑහීමට පත් විය හැකි වාතාවරණයක් තිබිය යුතුය.

වරින් වර කරන ලද සංශෝධන මගින් බරපතල වෙනසක් සිදු වී නැතත්, 1968 අංක 11 පණතින් 'රෙජිස්ට්‍රාර් ජනරල්' ඇතුළත් කිරීම ද 1973 අංක 34 මගින් 41 වගන්තිය සංශෝධනය කිරීම ද, 1980 අංක 22, සහ 1981 අංක 18 මගින්, කරන ලද සංශෝධන ද වැදගත්ය. එසේම 1981 අංක 42 සහ 1992 අංක 3 දරන සංශෝධනයන් ද ප්‍රායෝගිකව සැලකිය යුතු වෙනස්කම් සිදු කොට,

නමුත් පණතේ හරයට බලපැවැත්වෙන සංශෝධන ඒ අතර දැකිය නොහැකිය.

## සිව්වැනි පිවිසුම - 04 - දළදා මාලිගාව, අටමස්ථානය

පණතෙහි 03 වන වගන්තිය ද එහි අතුරු විධානය ද වැදගත් තැනක් ගනී. 3 වන වගන්තිය පරිදි පණතේ විධි විධාන ශ්‍රී ලංකාවේ සියලුම විහාර කෙරෙහි බලපවත්වයි. නමුත් ඇමතිවරයාට අතුරු විධානයෙන් දී ඇති අභිමතානුකූල බලතලවලින් ස්ථාන 3 ක් මුදාහැර ඇත. එතෙකුදු වුවත්, මුළු පණතම හෝ විධාන කිහිපයක් පමණක් මේ මුදාං හැරීමට අදාළ වෙයි. එසේ නම් ඒ ස්ථානවල පාලනය, අයිතිය ආදී කරුණුවලට බලපවත්වන කිසියම් විධානයක් තිබිය යුතුය. කතරගම දේවාලය පිළිබඳව වූ ප්‍රශ්නය මීට ඉහතදී නිරාකරණය වූ හැටි දක්විණ.

දළදා මාලිගාව, මුදාහළ ආයතනවලින් මුල් තැනක් ගනී. ඒ බැව් පණතේ 11 වැනි කොටසේ 7 වැනි ඡේදයෙන් දක්වෙයි. මාතෘකාව වනුයේ 'භාරකරුවන්' (Trustees) යන්නයි. 7(1) පරිදි මාලිගාවේ භාරකරු දියවඩන නිලමේය. මෙය ඒ අනුව නිල බලයෙන් හිමි වෙයි.

එහි පුරප්පාඩුවක් ඇති වූ විට, මහා භාරකරු නුවර දී රැස්වීමක් කැඳවිය යුතු වන්නේ, පුරප්පාඩුව ඇති වී මස 3 ක් ඇතුළතය.

(1) අස්ගිරි හා මල්වතු මහානායක හිමිවරු

(2) නුවර පළාතෙන් තනතුරු හොබවන සහකාර දිසා ඒජන්තවරු

(3) නුවර පළාතෙහි පිහිටා ඇති. සියලු දේවාලවල බස්නායක නිලමේවරු සහ

(4) නුවර පළාතෙහි පෙර අවුරුදුවල වාර්ෂික ආදායම රුපියල් එක් දහස ඉක්මවන පන්සල්වල භාරකරුවන් ඒ රැස්වීමට එක් මාසයකට පෙර, ලිඛිත දැන්වීමක් මගින්ය. මේ දැන්වීම එකී සියලු පාර්ශවයන්ට අදාළ ය. ඊළඟට, දේවාලවල භාරකරුවන් ගැන කියැවෙන්නේ 8 වන වගන්තියේ සිට ඉන් ඔබ්බට ය. සිරිතක් හැටියට, දේවාලයකට භාරකරුවෙකු

පත් කරන විට, ඒ වගකීම බස්නායක නිලමේට පැවරෙයි. අනෙක් සියලු දේවාලවලට භාරකරුවෙකු පත් කරනු ලබන්නේ මහා භාරකරු විසිනි.

වෙනත් ආකාරයට කිවහොත්, බස්නායක නිලමේ භාරකරු ලෙස පත් කිරීම සිරිතක් වූ විට, ඔහුටද එසේ නොවන විට, මහා භාරකරු පත් කිරීම කළ යුත්තේ, එම පිළිවෙත අදාළ නොවන දේවාල සඳහාය. දේවාල දෙවගීයක් ඇති බැව් පැහැදිලිය.

බස්නායක නිලමේ තනතුරේ පුරප්පාඩුවක් වූ විට, මහා භාරකරු, එයින් මාස 3 ක් ඇතුළත, ඉහත පිළිවෙළට සමාන ලෙස රැස්වීමක් කැඳවිය යුතුය. එහිදී, නුවර පළාතෙහි පිහිටි දේවාලයක නම් දිස්ත්‍රික් සහකාර ඒජන්තවරුන් හා වෙනත් දේවාලයක නම්, ඒ ප්‍රදේශයෙහි සහකාර දිසා ඒජන්තවරුන් ද, ග්‍රාම සේවා නිලධාරීන් ද, දේවාලය පිහිටි පරිපාලන දිස්ත්‍රිකයෙහි දේවාලවල බස්නායක නිලමේවරු ද, නුවර පරිපාලන දිස්ත්‍රිකයෙහි පිහිටි දේවාලයක නම්, දියවඩන නිලමේ ද, දේවාලය පිහිටා ඇති දිසා සහකාර ඒජන්ත කොට්ඨාසවල භාරකරුවන් නොවූ පන්සල්වල භික්ෂූන් හැරෙන්ට එම භාරකරුවන් ද කැඳවිය යුතුය. ඒත් මසකට පෙර ලිඛිත දැන්වීමක් මගිනි.

මේ අනුව දියවඩන නිලමේ තනතුරට මෙන් නොව, වෙනම පළල් වූ සාමාජිකත්වයක් ඇත.

## භාරකරුවෙකු යනු කවරෙක්ද? (Trustee)

ඉහත දැක් වූ පරිදි ආයතන දෙකක භාරකරුවන් ගැන සඳහන් කරන ලදී. පණතේ 10 (1) ඡේදයට අනුව අනෙක් පන්සල්වල භාරකරුවන් ගැන කියැවෙයි. එනම් පණතේ 4(1) වගන්තිය පරිදි, ඉවත් නොකරන ලද පන්සල් ද ඇත. මෙම පණත යටතේ, භාරකරුවෙකු පත් කිරීමට විධි විධාන නොමැති විට, ඒ පන්සල් විහාරාධිපති වරුන් එම පත්වීම කළ යුතුය. එවිට වහාම ඒ බව මහා භාරකරුට වර්තා කළ යුතු අතර, එවැනි තනතුරක පුරප්පාඩුවක් ඇති වූ විට එයින් මසක් ඇතුළත පත් කොට, මහා භාරකරුට වර්තා කළ යුතුය.

නමුත් 10(2) වගන්තිය පරිදි, අටමස්ථානය සැකසෙන පුද්ගලික පන්සල්වල විහාරාධිපති වරුන්ට අදාළ නොවන අතර, 15 (2) වගන්තිය පරිදි ධුරයෙන් ඉවත් කරන ලද විහාරාධිපති වරුන්ට ද බල නොපානු ඇත. ඒ භාරකරුවන් වූ විහාරාධිපතිවරුන් ය.

මේ අනුව පැහැදිලිවම 4(1) වගන්තිය පරිදි ඉවත් නොකරන ලද පන්සල් ඇත. ඒවායෙහි භාරකරුවන් පත් කරනු ලබන්නේ විහාරාධිපතිවරුන් විසිනි. එමෙන්ම ඒ පන්සල්වල භාරකරුවන් පත් කිරීමේ ක්‍රමවේදයක් මේ පණතේ නැති අවස්ථාද විය යුතුය. කාලය බලපවත්වන්නේ පුරප්පාඩුවක් ඇති වූ විට පමණි. අනෙක් අවස්ථාවකදී පත්වීම සිදුකොට වහාම මහාභාරකරුට වාර්තා කළ යුතුය.

කෙසේ හෝ වේවා, මේ පිළිබඳව සුදුසුකම්, සේවා කාලය, ඉවත් කිරීම ආදිය සඳහා දීර්ඝ ලෙස පසු වගන්ති විධි විධාන සලසා ඇත.

කතරගම දේවාලය පිළිබඳව වාර්තාගත සිද්ධියක් ඇත. ඒ චාර්ලිස් අප්පු කපුරාල එරෙහිව මානිස් අප්පු 71 න.නී.වා. 350 පිටුවේ වාර්තා වෙයි.

පැමිණිලිකරු 1 වන විත්තිකරු සහ කතරගම දේවාලයන්හි බස්නායක නිලමේ පාර්ශවකරුවන් කරමින් 1961 දී ඇසල මාසයේදී, මහා කපුරාල ලෙස කටයුතු කිරීම වැරදි ලෙස වාරණය කළ බව කියමින් වන්දි ඉල්ලා නඩු පැවරීය. 2 වැනි විත්තිකාර බස්නායක නිලමේ නඩුවට ආදේශ කළේය.

තීරණය වූයේ, එම ආදේශය වැරදි බවයි. මුලින් පෞද්ගලික මට්ටමින් එකතු කොට, ආදේශයෙන් වෙන කෙනෙකු පත් කළත් මුල් එකතුව නිල වශයෙන් නොවන බව පෙනී යන අතර, අභියාචනයට ඉඩ හරින ලදී.

වැදගත් නීතිමය කරුණු කිහිපයක් මෙහි ඇත. හේලි එරෙහිව නුගවෙල (1933) 35 න.නී.වා. 157 තීන්දුව පරිදි 1905 පණතේ 30 වැනි වගන්තිය. වත්මන් පණතේ 18 වන වගන්තියට සමාන බවත්, පණත් දෙකම අනුව භාරකරුවෙකු සංස්ථා තත්වයට පත් වේදැයි සලකා බලන ලදී. එය එසේ නම් සංස්ථා දේපළ මිස පුද්ගලයින්ගේ දේපළ පවරා ගැනීමට තීන්දුවක් ක්‍රියාත්මක කළ නොහැකිය. මේ හුදෙක් නීති ප්‍රශ්නයක් ලෙස නොව, නඩුවේ කරුණු ද සලකා බැලූ අවස්ථාවකි. ඒ අනුව, විත්තිකරු පැමිණිලිකරුට ඔහුගේ මාසයක සේවා කාලයට පසුව 'ඇතුල් කට්ටලේ' හෝ දේවාලයේ යතුරු භාර නොදීම සහ ඊට 2 වැනි විත්තිකරු වංක සහයෝගය දීම පදනම් කොට නඩුව පවරා තිබුණි. නඩුව පවරා තිබුණේ 1961 ජූනි 8 වැනි දිනය. ඇසල මාසය

ආරම්භ වූයේ 1961 ජූලි 13 වැනි දිනයි. එසේ නම් නඩු නිමිත්තක්ද නොතිබුණැ'යි තීරණය විය. අභියාචන පිළිගැනිණ. නඩුව වේලාසනින් පවරා තිබීම ද සලකා ඉහත තීන්දුව දී ඇත.

එපමණක් නොව, සහන කෙසේ වෙතත්, හුදෙක් නීතිය මතම තීන්දුව දී ඇති බැව් පැහැදිලිය. නමුත් නඩු නිමිත්තක් නොතිබීම නඩුවේ අරටුවට කිඳා බසින ප්‍රශ්නයකි. එයටද විසඳුම් ලැබී ඇත.

තව දුරටත්, සමාන කරුණක් වෙතත් වෙනත් පදනමකින් තීන්දුවක් ඇත. පෙරේරා එරෙහිව මැතිව් 65 න.නී.වා 116 ට අනුව, බෞද්ධ පන්සලක භාරකරු ලෙස, පන්සලට අයත් ඉඩමක අයිතිය ඉල්ලමින් නඩු පැවරූ විට, පණතේ 11 වැනි ඡේදය පරිදි මහා භාරකරු පත් වීමේ ලිපිය නොදී ඇති බවට, විරෝධතාවක් ඉදිරිපත් කරද්දී, පණතට අනුව සියලු පන්සල්වලට මේ පණත බලපවත්වන බව දැක්වෙතත්, විශේෂයෙන් මෙම පන්සලට ඒ ප්‍රතිපාදන බල නොපවත්වන බව ඔප්පු කිරීමේ වගකීම පැමිණිලිකරුට පැවරෙන බව තීන්දු විය. 11(2) වගන්තිය අනුව, පත් කිරීමේ ලිපිය නිකුත් කිරීම වහාම කළ යුතුය. නිවැරදි තීන්දුවක් බව පැහැදිලිය.

## සාංඝික දේපළ හා පුද්ගලික දේපළ

සාංඝික දේපළ කවරේදැයි පණතේ සඳහන් නොවේ. නමුත් පණතේ 23 වැනි වගන්තිය පරිදි, කිසියම් භික්ෂුවක් තම ජීවිතය තුළ ප්‍රයෝජනය සඳහා පමණක් උපයාගත් පුද්ගලික දේපළ, ජීවිත කාලය තුළ අන්සතු නොකළහොත්, තමා සිටි පන්සලට අයත් යැයි සැලකිය යුතුය. (deemed) එහෙත් ඒ දේපළ උරුමයෙන් ලැබුණේ නම් එසේ නොවන්නේය.

මෙය ඉතා වැදගත් අදහසක් ගෙන දෙයි. මුල් කාලවලදී විශේෂයෙන් මිහින්තලා ගුහා ලිපිවල "අසුවලා විසින් සංඝයාට පුදන ලදී" යන පරිදි ශිලා ලේඛනවල කොටා ඇත. එසේම භික්ෂුවකට හෝ සංඝයාට පිදීම ද සිදුවිය. "අගත අනගත චතු දිශ ශගශ" යනුවෙන් දැක්වෙන්නේ සතර දිගින් පැමිණි, නොපැමිණි සංඝයාට ලෙසට ය. ඒ අනුව සංඝයාට පොදුවේ දෙන ලද ගුහා ලෙස දැක්විය හැකිය. නමුත් 23 වැනි වගන්තියක් එවකට සිහිනයකට හෝ බඳුන් නොවුණි. කෙසේ වෙතත් මේ වගන්තිය ද ව්‍යංගයෙන් සඳහන් කරනු ලබන්නේ,

පුද්ගලික දේපළ සඟ සතු කිරීම නොව, ඒවා එම පන්සලට අයත් යැයි සැලකීමකි.

1). පුද්ගලික දේපළ උපයාගත් දේපළ වීම,
2). මේ චංචල හෝ නිශ්චල දේපළ විය හැකිය,
3). ඒවා සම්පූර්ණයෙන්ම පුද්ගලික ප්‍රයෝජනය සඳහා විය යුතුය,
4). ඒ භික්ෂුව උරුම කර ගත් දේපළ නොවිය යුතුය,
5). පැවරීම අන්සතු කිරීම ජීවිත කාලය තුළ සිදු කළ යුතුය,
6). ජීවත්ව සිටි පන්සලට පමණක් අයත් වේ.

මේ අනුව පන්සලට අයත් වීම, සාංගික දේපළක් වීම නොවේ. පන්සලේ ඇති සියලු දේපළ සාංගික ඒවා නොවන බැවිනි. එහෙත් සාංගික යනු සංඝයාට අයත් යැයි අර්ථයෙන් ගතහොත් එය එසේ වීමට පිළිවන. යාන වාහන, සුඛෝපභෝගී භාණ්ඩ, විනයට අනුව අකැප භාණ්ඩ පන්සලක තිබිය හැකිය.

මේ පිළිබඳව නඩු තීන්දු ගණනාවක් වාර්තා වී ඇත. ඉන්ද්‍රසුමන තෙරුන් එරෙහිව කලපුගම උපාලි - පානදුර - 70 න.නී.වා 358, නඩුවේදී ශ්‍රේෂ්ඨාධිකරණය තීරණය කළේ අවසාන කැමති පත්‍රයක් මගින් පැවරීම 23 වගන්තිය අපේක්ෂා කරන පරිදි අන්සතු කිරීමක් නොවන බවයි. බැංකු දෙකක තැන්පත් කොට තිබූ රු. 38, 000/- මුදල ලබා ගැනීමට පෙත්සම්කරු ඉල්ලීමක් කළේය. ඒ විහාරාධිපතිව සිටි භික්ෂුවට අයත් පුද්ගලික දේපළය. කෙසේ වෙතත් මීට පෙර දක් වූ වංචා වැලැක්වීමේ රාජාඥාවේ ප්‍රතිපාදනයන්ට පටහැනි අන්තිම කැමති පත්‍ර නඩුව මෙහිදී අදාළ වේද නැද්ද යන ප්‍රශ්නය උද්ගත නොවන්නේ "අන්සතු කිරීම" (alienation) යන වචනයේ නීතිමය අර්ථයට වැඩි වටිනාකමක් දීම විය හැකිය. අන්සතු කිරීම තෑග්ගක්, දීමනාවක්, ප්‍රතිඥාවක් මත පැවරීමක් වුවද විය හැකිය. හැරත් මේ චංචල මුදල් මිස නිශ්චල දේපළක් නොවේ. ප්‍රායෝගික වැදගත් කමක් කාලීනව මේ තීන්දුවට හිමිවේ.

මොරවක එරෙහිව ධම්මරතන තෙරුන් - 1978 - 79 2 වැනි වෙලුම. එස්.එල්.ආර් 153 පිටුවේ තීන්දුද පැවරීමකි. පැමිණිලිකරු විහාරාධිපති හැටියට පන්සලට අයත් ඉඩමක අයිතිය ඉල්ලමින් විත්තිකරුට එරෙහිව නඩු පැවරීය. විත්තිකරු කියා සිටියේ, එම

පන්සලේ පෙර සිටි විහාරාධිපති, වටිනා ප්‍රතිෂ්ඨාවකට තමාට ඉඩම පැවරූ බවයි. විත්තිකරුට අනුව, ඒ පෙර භික්ෂුවගේ පුද්ගලික දේපළකි. පැමිණිලිකරු කීවේ ඒ සාංඝික දේපළක් බවය. පැමිණිලිකරුගේ පූර්ව ගාමියාට එනම් මාදිවෙල ධම්මතිලක තෙරුන්ට අංක 5647 සහ 27.8.33 ඔප්පුවෙන් රාමනායක සහ පෙරේරා විසින් විකුණනු ලැබ තිබුණි. දිසා අධිකරණය කියා තිබුණේ ඒ දෙදෙනාට සාංඝික දේපළක් ලෙස ඉඩම හිමිවී නොතිබූ බවය. පැමිණිලිකරුට අනුව, ඔවුන් දෙදෙනා පන්සල් දේපළ භාරයක් ලෙස තබා ගත් අතර, ඊට පෙර විහාරාධිපති කෙනෙකුට නඩු තීන්දු ප්‍රකාශයක් මගින් පැවරූ බවත් ඒ මේ විත්තිකරුවන්ට වූ අතර, ඔප්පුව අනුව, පන්සලේ මුදල්වලින් ඉඩම මිලට ගත් බවට කොන්දේසියක් නොතිබුණ බව සහ 1938 විහාරාධිපති හැටියට හෝ පැමිණිලිකරුගේ පූර්වගාමියා ඉඩම මිලට ගැනීමට උත්සාහ නොකළ බව ය.

තීන්දුව වූයේ, රාමනායක සහ පෙරේරා ධම්මතිලක තෙරුන්ට ඉඩම පැවරීමේදී එය පන්සල් දේපළක් වූයේද, නැත්නම් සාංඝික දේපළක් වූයේදැයි පැමිණිලිකරු ඔප්පු කළ යුතු බව ය. දිසා අධිකරණය විසින්, අවුරුදු 30 කට අධික කාලයක් කාලාවරෝධී ලෙස බුක්ති විඳීමෙන් ධම්මතිලක විහාරාධිපති ලෙස අයිතිකරු වූ බවට වූ තීරණය සාවද්‍ය ය. එසේම ඒ සාංඝික දේපළක් හැටියට එපරිදි ඔහු භුක්ති වින්දේ නම්, එහි වාසිය විත්තිකරුට යා යුතුයි. නමුත් පංසලේ මුදල්වලින් මිලට ගත් බවට තහවුරු නොවීම සහ, ඉඩම බදු දීමෙන් ලැබූ ආදායම පන්සල සඳහා වියදම් කළ බව තහවුරු නොවීමෙන් ද, එසේම පන්සලට ලැබුණු ත්‍යාගයක් හෝ පැවරීමක් තහවුරු නොවීම ද නිසා, ඒ සාංඝික දේපළක් යැයි තීන්දු කළ නොහැකිය.

අපූරු තීන්දුවකි. සංකීර්ණ කරුණු ඇත. කරුණු අනුව, තහවුරු කිරීම පැමිණිලිකරුට පැවරිණ. භික්ෂූන් අතර ගනුදෙනුවලදී, නීතිය කොතෙක් දුරට බලපැවැත් වෙනු ඇද්ද? පෞද්ගලික සහ සාංඝික දේපළ මිරිඟුව කෙනෙකු අවුල් ජාලයක පටලවනු ඇත. පණතේ 23 වන වගන්තිය ක්‍රියාත්මක කිරීම කෙතෙක් දුෂ්කරද?

බද්දේගම රතනසාර තෙරුන් එරෙහිව බෂීර් - 66 න.නී.වා. 433 පිටුවේද පන්සල් දේපළක් ගැන කියැවෙයි. තම මරණයට මාස එක හමාරකට පමණ පෙර විහාරාධිපති හිමි ඔප්පුවක් මගින්, තම කණිෂ්ඨ

ගෝලයකු වූ 10 වැනි විත්තිකරුට විහාරාධිපතිගේ ජීවිත කාලය තුළ පන්සල සහ දේපළ පාලනය කිරීමට පත්කරන ලදී. එහි පාලනය කිරීම පැවරීමක් ලෙස දක්විණි. (assignment) ඊළඟට, අධිකාරී ලෙස අනුප්‍රාප්තිය ලැබීමට ද ඒ පත්කිරීම මගින් අදහස් කොට තිබේ.

අධිකරණය තීන්දු කළේ, විහාරාධිපතිගේ අභාවයෙන් පසුව පන්සලේ සාංඝික දේපළවලට හිමිකම පෑම සඳහා ඉදිරිපත් වීමට නීත්‍යානුකූල අයිතියක් 10 වැනි විත්තිකරුට ඇති බවයි.

මෙහිදී ද, සාංඝික දේපළ පිළිබඳව පමණක් කියැවිණ. මෙහිදී ඉතා වැදගත් කරුණක් ඉංග්‍රීසි විනිසුරකු වූ අගවිනිසුරු බර්ට්‍රම්, **සරණංකර හිමි එරෙහිව ඉන්ද්‍රජෝති හිමි 20 න.නී.වා 397** නඩුවේ කියා ඇති පරිදි, අධිකාරී තනතුර කුමක්දැයි උපුටා දක්වා තිබේ.

"ශිෂ්‍යයන් ගැන කියද්දී," අධිකාරී' යනු ලංකාවේ තීන්දු සහ රාජාඥාවන්ට අනුව, වෙනත් ගණයක ප්‍රධානියෙකි. එය සංස්කෘත භාෂාවේ බලයලත් යන 'අධිකාරී' යනුවෙන් හැඳින්වෙන කෙනෙකි."

එසේම බස්නායක අග විනිසුරුද පසුව, **ජනානන්ද හිමි එරෙහිව රත්නපාල තෙරුන් - 61 න.නී.වා. 275** පිටුවේ තීන්දුවේ මෙසේ පවසා ඇත. "විහාරාධිපති සහ විහාර අධිකාරී යන පද දෙක එකිනෙකට වෙනස් බව මුල් බැසගත් තත්‍වයකි"

මේ අනුව පෙර කලද මේ විෂය පිළිබඳව අධිකරණයෙන් කොතෙක් උනන්දුවක් දක්වා තිබේද යනු පෙනී යයි. උපසම්පදා සාමණේර විහාරාධිපති, පාලක විහාරාධිපති යන පද අතරට, අධිකාරී තත්‍වයක් අධිකරණයන් විසින් දෙනු ලැබ ඇත.

තවත් තීන්දුවකින් විහාරාධිපති තනතුර කෙනෙකු අතහැරීම පිළිබඳව දක්වේ. **සංඝානන්ද තෙරුන් එරෙහිව සුමණතිස්ස තෙරුන් - 66 න.නී.වා 394;** එකිනෙකට ඈතින් පිහිටි විහාරස්ථාන ගණනාවක විහාරාධිපති නම, එක් පන්සලකදී රැඳී, සම-ගෝලයකු වෙනත් පන්සලක වාසය කරද්දී, එම පන්සල සහ දේපළ රැක බලා ගැනීමට ඔප්පුවක් මගින් පත් කළේය.

තීරණය වූයේ, එම ගෝලනමට, තමා එම පන්සලේ පාලක විහාරාධිපති ලෙස නම් කර ගැනීමට නුපුළුවන් අතර, ඒ පත් කිරීම කළ භික්ෂුවගේ ජ්‍යෙෂ්ඨතම ශිෂ්‍යයාට එරෙහිව බවද පැහැදිලි විය.

තීන්දුව අතරතුර විනිසුරුවන් කියා සිටියේ, විහාරාධිපති බව අතහැරීම කරුණු අනුව සැක සහිත නොවිය යුතු බවයි. නියෝජිතයින් පත් කළත්, විහාරාධිපති බව අත් නොහැරෙයි. මෙම විහාරාධිපති බව අත හැරීම (abandonment) බොහෝ අවස්ථාවල ප්‍රශ්නයට බඳුන් වූයේ වෙනත් අය පන්සලට සහ දේපළවලට හිමිකම් විහරාධිපති නාමයෙන් ඉදිරිපත් කළ බැවිනි. පංසල් කීපයක විහාරාධිපති කෙනෙකුට, අනෙක් පන්සල් දුර බැහැර නිසාත්, වයස හෝ රෝගී තත්ත්වයන් නිසාත්, පාලන කටයුතුවලදී අපහසුතාවක් ඇති වේ. එවිට පිට කෙනෙකු හෝ ශෝල නමක් ඒ තනතුරට හිමකම් කියන විට, අත හැරීම, භුක්තිය, පත් කිරීමේ ක්‍රම වේදය, අනුප්‍රාප්ති ක්‍රමය එළිදැක්වෙයි.

ධීරානන්ද හිමි එරෙහිව රත්නසාර හිමි - 67 න.නී.වා 559 ට අනුව, විහාරාධිපති ලෙස නම් කිරීමට පැමිණිලිකරුගේ ඉල්ලීම, "තනතුරක් ප්‍රකාශයට පත් කිරීම" නිසා, නඩු නිමිත්ත උදාවී අවුරුදු 3 ක් ඇතුළත ඉල්ලීම කළ යුතු යැයි කියැවිණ; සංකීර්ණ කරුණු අතර, අංක 3760 නඩුව පවතිද්දී විත්තිකරු මියගොස් ඇත. පැමිණිලිකරුගේ වාසියට නඩුව තීන්දු විය. අභියාචනය පවතිද්දී ක්‍රියාත්මක කළ හැකි කොටස් පිළිබඳව රිට් ආඥාව නිකුත් විය. විත්තිකරු තීන්දුව නිසා පංසල අතහැර ගියේය. නමුත් අභියාචනයෙන් විත්තිකරුට ජය අත්විය. 1958-02-19 වැනි දින නැවත පන්සලට පැමිණියේය. පැමිණිලිකරු නැවත විත්තිකරුට එරෙහිව 'විහාරාධිපති' තනතුරට නඩු පැවරීය. ඔහු කීවේ මේ නඩු නිමිත්ත 1958-02-19 උදා වූ බවයි.

තීරණය වූයේ උසාවි තීන්දුව නිසා පන්සලෙන් ඉවත් වීම අත හැර යාමක් නොවන අතර, ඉතා පැහැදිලි, ද්විත්වාර්ථයෙන් තොරව, ඒ චේතනාව ඔප්පු කළ යුතු බවයි. එසේම, පැමිණිලිකරු තම ගුරුවරයාගේ ශෝලයෙකු බවට ප්‍රමාණවත් සාක්ෂි ඇත.

විනිසුරුවරන් දෙදෙනා වෙනම තීන්දු දෙකක් ලියා ඇත. අභියාචනයට ඉඩදෙන ලදී. කෙසේ වෙතත්, කාලවරෝධී නීතියේ බලපැවැත්ම මෙහිදී, විනිශ්චයට භාජනය නොවූවත්, කරුණු සරල නිසා, තනතුරකට ඉල්ලීමක්' යනු ප්‍රශ්නයක් නොවීය. එහෙත් පසු අවස්ථාවල මෙය බරපතල අර්බුදකාරී තත්ත්වයකට පත් විය. ඒ පිළිබඳව පසුව කරුණු දක්වේ. තීරණය කරුණුවලට එකඟ බව පෙනේ. සාංඝික දේපළ යනු සංඝයාට පූජා කළ දේපළයි. එවිට ඒ දේපළ මුළු සංඝ

හිමිවේ. ප්‍රධාන භික්‍ෂුවගේ කැමත්ත මත පන්සලේ ඕනෑම තැනක වාසය කිරීමට, වෙනත් භික්‍ෂුවකට හැකිය. ඔහු ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාවට අයත් නොවන කෙනෙකු විය යුතුය. එහෙත් පන්සලේ අරමුදල්වලින් නඩත්තු වීමට ඔහුට අයිතයක් නැත. වාසය කිරීමට ඇති අයිතිය යනු ප්‍රධාන භික්‍ෂුව වෙන් කර දෙනු ලබන ස්ථානයයි.

මේ තත්වය චන්ද්‍රානන්ද හිමි එරෙහිව සුමනජෝති තෙරුන් - (1986) 2 එස්.එල්.ආර්. 181 පිටුවේ දක්වෙයි. කරුණු අනුව, පණතේ 4 වන වගන්තිය පරිදි අතහරින ලද්දකි. ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අනුව අනුප්‍රාප්තිය සිදු වන්නකි.

ධම්මජෝති හිමි එරෙහිව ටිකිරි බණ්ඩා (1881) 4 එස්.සී.සී. 121, තීන්දුව සහ දේවමිත්ත හිමි එරෙහිව පියදාස (1927) 23 න.නී.වා 24, තීන්දුවවල දක්වෙන පරිදි සාංඝික දේපළක් නැවත සංඝයා සතු වන්නේ ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරාව අවසන් වූ පසු මහා නායක තෙරුන්ගේ ඊළඟ පත් කිරීමෙනි. ඒ තත්වය සෝභිත තෙරුන් එරෙහිව රත්නපුර තෙරුන් (1983) බී.එල්.ආර් 151 තීන්දුවේදී සමරකෝන් අගවිනිසුරු තුමා ද පිළිගෙන ඇත.

කෙසේ වෙතත් මේ තීන්දුවේ වැදගත් බව රැඳෙන්නේ, කිසියම් තැනක වාසයට වෙන අයෙකුට ප්‍රධාන භික්‍ෂුව ඉඩදීම "පුද්ගලික කරුණකි" යන්නයි. වරදක් කරන කෙනෙකු නෙරපා දැමීමට ද, ඒ අනුව අයිතියක් ඇත.

'සාංඝික දේපළ' තවදුරටත් සලකා බලන ලද තීන්දු ඇත. ඒ අනුව, විමලරංසි තෙරුන් එරෙහිව මැතිව් - 65 නි.නී.වා 351 නඩුවේදී ධර්ම ශාලාවක් සාංඝික දේපළක් වන්නේ ද යන මූලික කරුණ වාදයට ලක්විය. බෞද්ධ පන්සලක ධර්ම ශාලාවක් (බණ මඩුව) භික්‍ෂූන් දෙදෙනෙකු නීති විරෝධී ලෙස භුක්ති විඳ ඇත. ඒ ගොඩනැගිල්ල සාංඝික දේපළක් නොවීය. භික්‍ෂූන් දෙනමගේ වාසස්ථානයද නොවීය. ප්‍රධාන භික්‍ෂුවගේ ගෝලයින් වන ඔවුන් ඉවත් කිරීමට පන්සලේ භාරකරුවන් විසින් නඩු පවරනු ලැබිය හැකි බවද තීන්දු විය.

මහා භාරකරු භාරයක ආරක්‍ෂිත භාරකරු ලෙස පත් කළ විට, මහා භාරකාර රාජඥාවේ 41 වගන්තිය පරිදි, පැවරීමේ නියෝගයක් (vesting Order) කරන තුරු ඔහුට එහි අයිතියක් නැත. එතෙක් අයිතිය ඇත්තේ භාරකරුවන්ට මිස ආරක්‍ෂක භාරකරුට නොවේ.

## භාරකාර වරු

අංක 18 සහ 1981 සංශෝධිත පණතින් දේවාලවල භාරකරුවන් ගැන සඳහන් වෙයි.

(අ) දියවඩන නිලමේ එක් වරකට අවුරුදු එක බැගින් උපරිමය අවුරුදු 2 ට ජනාධිපති විසින් දීර්ඝ කරනු ලැබිය හැකිය.

(ආ) බස්නායක නිලමේ, දීර්ඝ කිරීමේ කාලය නැත.

(ඇ) අටමස්ථාන කමිටුවේ ද නිල කාලය දක්වා නැත.

1931 පණතේ 12 වැනි වගන්තියට අනුව දිය වඩන නිලමේ සහ බස්නායක නිලමේවරුන්ගේ සේවා කාලය අවුරුදු දහය (10) ලෙස දක්වේ. එය දීර්ඝ කළ හැකි කාලය ඉහත සංශෝධනය පෙන්වයි.

15 වන වගන්තියට අනුව තාවකාලිකව නතර කිරීම සහ ඉවත් කිරීම ගැන කියැවෙයි. මේ බලතල ඇත්තේ මහා භාරකරුටය. ඒ අනුව, කිසිවෙකු ඒ කරුණ ගැන උනන්දුවක් දක්වා පැමිණිලි කළ විට හෝ, තමාගේම උවමනාව මත කිසියම් අක්‍රමිකතාවක්, විශ්වාසය කඩ කිරීමක් හෝ රාජකාරිය පැහැර හැරීමක් භාරකරුවෙකු හෝ පාලක භික්ෂුව විසින් කෙරුණි නම්, ඒ පන්සලේ දේපළ පිළිබඳ ව නම්, මහා භාරකරුට, ඒ පුද්ගලයා ඉවත් කිරීමට මතයක් ඇති වූ විට, වැඩ තහනමට පෙරාතුව ලිඛිතව චෝදනා ඉදිරිපත් කොට, පිළිතුරු දෙන ලෙස දන්විය යුතුය. 15(2) වගන්තිය ද මෙහිලා වැදගත්ය. නඩු පැවරීම ගැන එහි දක්වේ. මහා භාරකරු හෝ පන්සල පිළිබඳ උනන්දුවක් ඇති ඕනෑම අයකු පැමිණිලිකරු හැටියට අනෙකුත් උනන්දුවක් දක්වා පත් නොකොට, එම පන්සල පිහිටි ප්‍රදේශයෙහි එම වරද කළ පාලක භික්ෂුව හෝ භාරකරු සිටින පංසල පිහිටියේ යම් අධිකරණ කොට්ඨාසයකද, එහි නඩු පැවරිය යුතුය. එහිදී

(අ) අසුවල් දේ කළ යුතුයැ' යි භාරකරුට හෝ පාලක භික්ෂුවට නියෝග කිරීමට,

(ආ) පාලක භික්ෂුව හෝ භාරකරු විසින් පන්සලට ගෙවීමේ ආඥාවක් නිකුත් කිරීම සහ

(ඇ) එම භාරකරු ඉවත් කිරීමට නියෝග කළ හැකිය.

මෙයට අතුරු විධානයක් ඇත. උනන්දුවක් දක්වන කෙනෙකු පැමිණිල්ලක් ඉදිරිපත් කරන විට, මහා භාරකරුගේ සහතිකයකින්

එවැනි ප්‍රශ්නයක් ඇතැයි ද අධිකරණය හමුවේ තීරණයකට සුදුසු යැයි ද පැමිණිල්ල සමග ඉදිරිපත් කළ යුතුය.

15 (3) ට අනුව උනන්දුවක් දක්වන පුද්ගලයා යනු, පන්සලට යාම් ඒම් කරන, එහි වැඳුම්පිදුම්වලට පුරුද්දක් ලෙස සහභාගී වීම කරන කෙනෙකි.

15 (4) පාලක විහාරාධිපති කෙනෙකු හෝ භාරකරු විසින් කරනු ලබන ක්‍රියාවකදී, මේ පණත ක්‍රියාත්මක වීමට පෙර හා පසුව ද සිදු වූ වැරදි ගැන කටයුතු කිරීමට මහා භාරකාර ආඥා පණතේ විධි විධාන අනුව මහා භාරකරුට පැවරී ඇති බලතල ක්‍රියාත්මක කළ යුතුය.

18 වැනි වගන්තියට අනුව නඩු පැවරීමේ අයිතිය භාරකරුට මෙන්ම පාලක විහාරාධිපතිට පැවරී ඇත. පන්සල් දේපළ ආපසු පවරා ගැනීම, භුක්තිය ලබා ගැනීම, පණතේ අරමුණු ඉටු කරගැනීම සඳහා අවශ්‍ය දේ කිරීමෙන් නඩු පවත්වා ගෙන යාමට හැකිය. නඩු පැවරිය යුත්තේ, "අසුවල් පන්සලේ භාරකරු" ලෙස හඳුන්වමිනි. නඩුවලට විත්තිකරු වූ විටද, ඒ ආකාරයට සඳහන් විය යුතුය. සද්භාවයෙන් කරන ලද ක්‍රියාවක් වූයේ නම්, නඩු ගාස්තු පෞද්ගලිකව ගෙවීමට බැඳී නැත.

පන්සලක් නීතිමය පුද්ගලයෙකු නොවේ යන නාම පුවරුව, ඒ අනුව නොගැලපෙන බව පැහැදිලියි. 11 වැනි කොටසේ "භාරකරුවන්" ලෙස ඇති විධි විධාන දළදා මාලිගාවට අදාළව දක්වන ලදී. අටමස්ථානයට ඊට වෙනස් භාරකාර තත්වයක් ඇත.

## අටමස්ථාන භාරකාර කමිටුව

පූජ්‍ය ස්ථාන 8 කින් සමන්විත මේ නමින් හඳුන්වන පුද බිමට ඇතුළත් වන්නේ,

(1) බෝ මලුව (2) ලෝවාමහාපාය (3) රුවන්වැලි සෑය (4) අභයගිරි වෙහෙර (5) ථූපාරාමය (6) ජේතවනාරාමය (7) ලංකාරාමය සහ (8) මිරිසවැටියයි.

පණතේ 9(1) ඡේදයට අනුව අටමස්ථාන කමිටුවට සාමාජිකයින් තිදෙනෙකි. ඒ සියල්ලන්ටම භාරකරුවකු වීමේ සුදුසුකම් තිබිය යුතුය. සභාපති එයින් කෙනෙකි. මේ පණත ක්‍රියාත්මක කරන අවස්ථාවේදී, මහා භාරකරු මසක් ඇතුළත සාමාජිකයකු පත් කර ගැනීමට දන්විය යුතුය.

(අ) බෝ මලුව නායක තෙරුන්

(ආ) සමකාලීනව නුවර කලාවැව පවුලේ ප්‍රධානියාට සහ

(ඇ) මල්වතු, අස්ගිරි මහා නායක හිමිවරුන්ට සහ ශ්‍රී පාදස්ථානයේ නායක තෙරුන්.

මේ අනුව අටමස්ථානයෙහි භාරකරු මේ කමිටුවයි. 3 වන ඡේදයෙහි අතුරු විධානය දක්වන පරිදි පණතේ සියලු හෝ ශ්‍රී පාදස්ථානය හැරෙන්ට ඉවත් කළ හැකිය.

අටමස්ථානාධිපති පදවියට අනුප්‍රාප්ත වීම ගැන තීන්දු වූ නඩුවක් **1988 - 1 වන වෙළුමේ, පල්ලේගම ඤාණරතන හිමි එරෙහිව ගල්කිරියාගම සෝරත හිමි - 99** පිටුවේ වාර්තාගත කොට තිබේ.

පන්සල් අටේම ප්‍රධානියා හැටියට අධිපති හෝ අනුනායක හිමි සිරිතක් හැටියට බෝ මලුව විහාරයේය. 1944 සිට 1977-11-20 දක්වා සුමන රේවත හිමි. මේ අධිපතිත්වය දැරුවේය. අර්බුදය ඇති වූයේ ඒ අවස්ථාවේදීය. පැමිණිලිකාර භික්ෂුව කියා සිටියේ, තමා අපවත් වූ හිමිගේ ජ්‍යෙෂ්ඨතම ශිෂ්‍යයා බවත්, ඒ අනුව ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය පරිදි තමා විහාරාධිපති ලෙස පත් විය යුතු බවයි. විත්තිකාර හිමි කීවේ, තමා ඒ පදවියට නුවර වැව පවුලේ ප්‍රධානියා සහ අටමස්ථාන කමිටුව විසින් පත් කරනු ලැබූ බවයි. එය ඉතා පැරණි සිරිත බවද කීවේය. එසේම විත්තිකරු ද අපවත් වූ හිමිගේ ගෝලයෙකි. ලිඛිතව තමා එම තනතුරට අපවත් වූ භික්ෂුව විසින් පත් කරනු ලැබූ බවද දැක්වීය.

තීන්දුව වූයේ, "ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය පූර්ව නිගමනයක් ලෙස ගත හැකි වන්නේ, චරිත්‍රානුකූල සිරිත වූ නුවර වැව පවුලේ ප්‍රධානියා විසින් පත් කරනු ලැබූ පසු, නුවර කලාවිය රටේ මහත්වරු තිදෙනා සහ නුවර කලාවිය කෝරාළවරු දහහත් දෙනාගෙන් සමන්විත කමිටුව විසින් අනුමත විය යුතු අතර, මේ කරුණ වැරදි යයි ඔප්පු නොවන තාක් පමණි.

එනම් මේ තත්වය ඔප්පු කළ යුතුය. නො එසේ නම් ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය ම යැයි පූර්ව නිගමනය කළ යුතුයි.

සෙනෙවිරත්න විනිසුරුවරයා තව දුරට යමින් දෙවැනිව දැක් වූ පැරණි සිරිත ගැන කරුණු දක්වමින් අවස්ථා දෙකකදී හැරෙන්ට ක්‍රියාත්මක වූ බවත්, 1905 සිට 1931 දක්වා නීති වෙනස් වීම් ද (එනම් 1907-02-01 සිට) දැක්වීය.

තවදුරටත් ඩී 13 ලෙස මියගිය හිමි විසින් ලිඛිතව පත් කරන ලද ලිපිය වංචාවක් ලෙස අභියෝග නොකෙරිණ. නමුත් අභියාචනා අධිකරණය අත්සන් ලබා ගෙන ඒවා සැසඳීම ද විවේචනයට භාජනය විය.

බෞද්ධ විහාර දේවාලගම් පණතෙහි සාක්ෂි මත සිද්ධිමය කරුණු මගින් ඔප්පු කළ යුතුය. එය පැහැදිලිවම මිශ්‍ර වූ ප්‍රශ්නයකි. නමුත් අභියාචනා අධිකරණය, නඩුවේ මුල් වතාවට, ගිහියන්ට විහාරාධිපති කෙනෙකු පත් කිරීමේදී මැදිහත් විය හැකිදැයි තක් කිරීමට ඉඩ දී ඇත."

මේ අනුව ශ්‍රේෂ්ඨාධිකාරණය දැඩිව ප්‍රශ්නවලට පිළිතුරු සපයා ඇති බවද, කවර රීතියක් අනුව, විහාරාධිපති කෙනෙකු අටමස්ථානයට පත් කළ යුතුද යන කරුණු සිද්ධිමය සහ නීතිය ද, සිරිත් ද උපයෝගී කොට ගෙන ඇති බවද පැහැදිලිය.

වෙනත් ආකාරයකින් කියතොත්, ඩී 13 සහ ආශ්‍රිත සාධක වලින්, ඒ පත්වීම නිත්‍යානුකූල බව පිළිගෙන ඇත.

## පස්වැනි පිවිසුම - 05 - පන්සල් දේපළ සාංඝික සහ පුද්ගලික වීමේ වෙනස.

පණතේ 111 වැනි කොටස, 20 වැනි වගන්තියේ සිට ඉදිරියට දේපළ ගැන සඳහන් කරයි. ඒ අනුව, සියලුම චංචල, නිශ්චල දේපළ අයිතිය, ඊළඟට, පන්සලට අයත් හෝ වෙනත් විධියකින් බැඳුණු හෝ අයත් කරගත් යන වචනවලින්, අර්ථ ගැන්වීමේදී දුෂ්කරතා ඇතිවෙයි. ඒ වචන සියල්ලෙහිම නීතියට අනුව, විවිධ අරුත් දිය හැකි බැවිනි.

ඊළඟට, කොයි ආකාරයෙන් පන්සලට ලැබුණත්, පන්සලේ ප්‍රයොජනය සඳහා යන වචන නිසා, පන්සල් දේපළක් බවට පත් වෙයි. ප්‍රයෝජනයට වඩා 'පාවිච්චියට' (use) යන වචනයට පණත ඒ දේපළවලින් ලැබෙන බදු මුදල් ලාභ, සහ පන්සලේ ප්‍රයෝජනයට ලැබෙන පූජාවන් ඒ දේපළට අයත් වෙයි.

නමුත්, පුද්ගලික භික්ෂුවකගේම හුදු පෞද්ගලික පාවිච්චිය සඳහා ලැබෙන දේපළ පුද්ගලික පූජාවන් ය. වෙනස ඇත්තේ මෙහි බව පැහැදිලි ය. පන්සලට පූජා කිරීම එකකි. පන්සල යනු සංඝයා නොවේ. සාංඝික වීමට සංඝයාට පිදිය යුතුය. පන්සල සංඝයාගේ වාසභූමිය වේ. භූමියට කරන පූජාවන්, සංඝයාට කරනු ලබන පූජාවන් නොවේ. සාංගික ද නොවේ. කෙසේ වෙතත්, භික්ෂුවකට පුද්ගලිකව, පුද්ගලික ප්‍රයෝජනය සඳහා පමණක් පිදීම මගින් පුද්ගලික දේපළ ඇතිවෙයි. එය පැහැදිලි අරුතක් දෙයි. සංඝයාට යනු සංඝ ශාසනයට ය. එය පුද්ගලික ද නොවේ. පන්සල් දේපළ පිළිබඳ නඩුහබවලදී, මේ ගැටලුව පැනනගී. පුද්ගලික ප්‍රයෝජනයට ලැබෙන වාහනයක්, සාංඝික නොවේ. පන්සලට කරන පූජාවක් ද නොවේ. තම නමින් බැංකුවක තැන්පත් කරන මුදල් රැකියාවෙන් ලැබෙන වේතනයෙන් විය හැකිය. ඒ පුද්ගලිකව උපයාගත් මුදලකි. පන්සල් දේපළක් නොවේ. පුද්ගලික දේපළ රැච් පරිදි පරිහරණය කිරීම ලාභියාගේ අයිතියකි.

ඒ අනුව පණතේ 23 වැනි වගන්තියට අරුත් දිය හැකිය. ඉන්ද්‍ර සුමන හිමි එදිරිව කලපුගම උපාලි - 70 න.නී.වා 358 නඩුව මීට පෙර දක්වා ඇත. 23 වගන්තියට අනුව, තම ජීවිත කාලය තුළ, තමාගේ

පෞද්ගලික ප්‍රයෝජනය සඳහාම උපයාගත් සියලු පුද්ගලික දේපළ, ජීවිත කාලය තුළ අන්සතු නොකළහොත්, භික්ෂුව අයත් පන්සලේ දේපළ ලෙස සැලකෙයි. නමුත් තමාට උරුමයෙන් ලැබුණේනම් මේ පන්සල සතු වීම ක්‍රියාත්මක නොවේ.

උඩරට නීතියට අනුව ද උපයාගත් (acquired) සහ උරුම වූ (inherited) යන වචනවල ගැඹුරු අරුත් ඇත. උසාවි තීන්දු මගින් අරුත් දී ඇත්තේ, පසුබිම් සාධක සැලකිල්ලට ගැනීමෙනි. ඉහත තීන්දුවට අනුව බැංකුවක තම නමින් විහාරාධිපති කෙනෙකු මුදල් තැන්පත් කළ පමණින් ඒ පෞද්ගලිකව උපයා ගත්තේද, උරුම වූයේ දැයි නොසොයා තීන්දු කිරීම සහේතුක ද? 20 වැනි වගන්තිය ගැන අවධානය කළ යුතු වන්නේ, අර්ථකථනය හා නිරූපණය ද එහි ඇති බැවිනි. උරුම වූ දේපළ මේ ගණයට නොවැටෙන නිසා ශාකිවල අවශ්‍යතාව පැනනගී.

කෙසේ හෝ වේවා, 20 වන වගන්තියට අනුව එසේ පුද්ගලික නොවන දේපළ භාරකරුට පැවරෙයි. නොඑසේනම් පාලක විහාරාධිපතිට පැවරෙන අතර, ඒ බදුදීම්, කුලියට දීම්, අය කිරීම්, බාධාවන්, ඇතොත් ඒවාට යටත්වය. ඊටත් වඩා ඒ බාධා ආදිය නිශ්චල දේපළට පමණක් බලපවත්වයි.

විහාරාධිපති කෙනෙක් විහාරාධිපති තනතුර සඳහා අධිකරණයකට ඉල්ලීමක් කරන විට, එය නීතියෙන් ක්‍රියාත්මක කළ හැකි, නීතිමය අයිතියක් ඉල්ලා සිටීමක් මිස, හුදෙක් ආගමික ප්‍රශ්නයකට සීමා නොකළ හැකි බවද ඒ අනුව කාලාවරෝධී පණතේ 3 හෝ 10 වගන්ති අදාළ නොවන බව ද තීන්දු වූයේ, **සෝභිත තෙරුන් එරෙහිව රත්නපාල තෙරුන් - (1981) 1 වෙළුමේ ශ්‍රී.ලං.නි.වා. 201** නඩුවේදීය. එබැවින් ඉහත දැක්වෙන පරිදි 1931 පණත සහ සංශෝධනද ආගමික මෙන්ම නීතිමය තත්වයන් සැලකිල්ලට ගෙන තීන්දු විය යුතු බැව් අවධාරණය වෙයි. එසේම එම වගන්ති අදාළ යැයි තීරණය වූ සියලු පෙර නඩු තීන්දු සාවද්‍ය බව ද මෙහිදී තීරණය විය.

පණතේ 26 වැනි වගන්තියට අනුව, පන්සලකට අයත් කිසිම නිශ්චල දේපළක් උගස් කිරීම, විකිණීම හෝ වෙනත් ආකාරයක අන්සතු කිරීමක් ද නොකළ යුතුය. එහෙත් එහි අතුරු විධානය පරවේණි පංගුවකට යටත් නම්, හෝ දේපළ විකිණීමේ රිට ආඥාවක් නිකුත් වූ විට, මාස 3 ක කාලයක් ඇතිව මහා භාරකරුට ලිඛිත දැනුම්දීමක් කළ පසුව මිස විකිණීම නොකළ යුතුය.

මෙහිදී ද, පන්සල් දේපළ මිස සාංඝික දේපළ අතර වෙනස දක්වා නැත. පෞද්ගලික දේපළ මෙන් නොව, පන්සලේ සියලු සාංඝික දේපළවලට පමණය.

හැරත්, දේපළක් සාංඝික වීම, හිතු මතයට සිදු නොකළ හැකිය. සාංඝික දේපළක අයිතිය සංඝයා සතුය. පංසලට දුන් සියල්ල සාංඝික නොවේ. සංඝයා මුළු සංඝ සමාජය සඳහාම වෙයි. **වික්‍රමසිංහ එරෙහිව උන්නාන්සේ නඩුව - 22 න.නී.වා. 236 මෙහිදී අදාළය.**

පණතේ 25 වන වගන්තියට අනුව, භාරකරුවන්, විසින් පන්සල් දේපළවල ආදායම, මහා භාරකරුගේ අවසරය මත වියදම් කළ යුතු ආකාරය දක්වා තිබේ.

(අ) පන්සල අලුත්වැඩියා කිරීම, ගොඩනැගිලි, පාරවල් යථා තත්වයෙන් තබා ගැනීම; විහාරයත් දේවාලයත් එකම බිමක ඇතිවිට ඒ ආදායම් එකිනෙක අලුත් වැඩියාවට යෙදිය හැකිය.

(ආ) භික්ෂූන්ගේ හා වැසියන්ගේ නඩත්තුව සඳහා;

(ඇ) පන්සල ආශ්‍රිතව පාරම්පරික උත්සව, ආගමික පුද පූජා සඳහා;

(ඈ) අධ්‍යාපනය දියුණු කිරීමට;

(ඉ) නීති වියදම් සඳහා 28, 31 වගන්ති අනුව වන්දි ගෙවීම පිණිස;

(ඊ) මේ පණතේ විධි විධාන ක්‍රියාත්මක කරන ලද හෝ කිරීමට ඇති විට ඒ සඳහා යන වියදමින් කොටසක් ඇමතිවරයා, මුදල් විෂය භාර ඇමතිද සමග සාකච්ඡා කොට ගෙවීමට;

(උ) පණතේ විධි විධාන ක්‍රියාත්මක කිරීමේදී වූ වියදම් භාරකරුවන්ට ගෙවීම සඳහා;

(ඌ) මහා භාරකරු විසින් අනුමැතිය දෙන ලද වෙනත් කර්යයන් සඳහා යනුවෙනි.

## කිසියම් දේපළක් පන්සලකට දුන් පසු ආපසු ගත හැකිද?

මෙය අදාළ වන්නේ බොහෝ අවස්ථාවල දෙන දේ අපේක්ෂිත බලාපොරොත්තු ඉටු නොවූ විට නැවත ලබා ගැනීමට යාමේදී ය. සාමාන්‍යයෙන් දරුවකුට මව්පියන් ත්‍යාගයක් හැටියට නිශ්චල දේපළ දුන් විට, අකෘතඥතාව මත ඒ දේපළ ලබා ගැනීමට ඔවුහු නඩු මගට බසිති. නමුත් සාංඝික දේපළ හැටියට දෙන විට, ඒ දීමනාව වෙනස් කිරීමට හැකිද යන කරුණු විනිශ්චයට භාජනය වූයේ **ධම්මවංස තෙරුන් එරෙහිව උක්කු බණ්ඩා - 50 න.නි.වා 350 නඩුවේදීය.**

1947 දී පේදුරු අප්පුහාමි රජයේ බලපත්‍රයක් මත ඉඩමක අයිතිකරු විය. 1938 දී කිලිනොච්චියේ දී ශ්‍රී සුගත සමොදාය සමිතිය පිහිටුවා ගන්නා ලදී. ඒ සඳහා අරමුදල් එකතු කර ගනු ලැබීය. 1947 දී තාවකාලික ගොඩනැගිලි ඉදිකළ අතර, 1947-11-22 දිසාපතිටද දන්වන ලද්දේ සමිතියට බලපත්‍රයේ අයිතිය පවරා දෙනු ඇතැයි බලාපොරොත්තු වෙනි. 1951 දී පැමිණිලිකරුවන් තිදෙනාට, සමාගමේ භාරකරුවන් ලෙස බදු දෙන ලදී. පේදුරු අප්පුහාමි 1947-11-23 "පැවරීමේ ඔප්පුව" ලෙස සමිතියේ නිලධාරීන් ද සමග සඳහන් කරන ලදී. පසුව දෙන ලද වාර්තාවකට අනුව අමරපුර නිකායේ සංඝයාට දෙන ලද බව දක්විණ. ඒ අනුව පැමිණිලිකරුවන් සමිතියේ නිලධාරීන් ලෙස පෙනී සිට 1947 ප්‍රකාශයට පටහැණිව කටයුතු කිරීමක් අනාවරණය වෙයි.

අනෙක් කරුණු වංචා වැලැක්වීමේ ආඥා පණතේ විධි විධාන සාංඝිකව දෙන දේපළවලට බලනොපාන බවයි. ඒ සඳහා (1918) 20 න.නී.වා 385, (1921) 22 න.නී.වා 236 සහ (1955) 57 න.නී.වා 469 තීන්දු අදාළ කොට ගෙන ඇත.

අභියාචනයට ඉඩදී ඇත; මෙය 1959 දී ප්‍රකාශිත තීන්දුවකි. 'නිශ්චල දේපළ' ලෙස හඳුන්වන්නේ කෙබඳු දේපළද යන කරුණ විනිශ්චයට භාජනය වූයේ පඤ්ඤාලෝක තෙරුන් එදිරිව ජිනෝරස තෙරුන් - 50 න.නි.වා. 256 ය. පණතේ 34 වගන්තියට අනුව කාලාවරෝධී නීතියේ බලපැවැත්ම සලකා බලන ලදී. 'නිශ්චල දේපළ' යනු කායික, ද්‍රව්‍යත්වයක් ඇති දේපළ පමණය. ඒ අනුව පාරක් පාවිච්චි කිරීමේ අයිතිය ඉල්ලා නඩු පවරන විට, කාලාවරෝධී නීතිය බල නොපවත්වයි.

මේ පිළිබඳව කලක පටන් පරස්පර විරෝධී හෝ වෙනස් මත ඉදිරිපත්ව තිබුණි. කාලාවරෝධී පණතේ 3 සහ 10 වගන්තිද, සිවිල් විධාන සංග්‍රහයේ 4, 18, 20, 34 වගන්තිද අළලා දෙන ලද පංච පුද්ගල විනිසුරු මඬුල්ලක තීන්දුවක් 79 න.නී.වා 1 වන වෙළුමේ 147 පිටුවේ ධම්මධජ හිමි එරෙහිව විමලජෝති හිමි දක්විය හැකිය.

බැලූ බැල්මට, තර්කයට සීමා වූ නීති ප්‍රශ්නයක්, කරුණු ආශ්‍රිතව තහවුරු වූ, පැවති ඌනතාවක් අඩුපාඩු පුරවා ක්ෂේත්‍රයට ඇතුළු කළ තීන්දුවක් ලෙස මෙය සැලකිය හැකිය.

කෙනෙකු, විහාරාධිපති යැයි කී විට, අරුත් සුන් පුද්ගලයෙකු ලෙස හැඳින්විය යුතු යැයි තව දුරටත් කිව නොහැක. ඒ තනතුර ලේබලයක්

නොවේ. ඔහු රූකඩයක් ද නොවේ. අසීමිත වටිනාකමක් ඇති චංචල දේපළවල භාරකරුය. මෙයට බෙදා වෙන් නොකළ පෞද්ගලික දේපළ ඇතුළත් විය හැක.

මුල් අධිකරණය 10 වැනි වගන්තිය උල්ලංඝනය නොකළේ යැයි තීන්දු කොට තිබුණි. එසේම අවුරුදු තුනක (3) කාලාවරෝධී නීතිය බලපැවැත්වෙන බවද කියා ඇත. ශ්‍රේෂ්ඨාධිකරණය ඊට අදාළ අවස්ථාවලදීද කියා ඇති පරිදි සහ විවිධ මත පරස්පරව ඇති බැවින් පංච පුද්ගල මඩුල්ලකට යොමු වූ බව සඳහන් ය.

එහිදී, උදලාගම විනිසුරුතුමා විරුද්ධ තීන්දුවක් දී කීවේ, අවුරුදු 3 ක කාලය සහ 10 වගන්තිය අදාළ නොවන බවයි. පණතේ 4(1) වගන්තියෙන් ඉවත් කළ පසු පාලක විහාරාධිපතිට බලතල පැවරෙයි. එබැවින් පණතට පසුව, විහාරාධිපති බව ඉල්ලූ විට, එය හුදෙක් තනතුරක් සඳහා නොව ඉන් ඔබ්බට ගිය තත්වයක් උද්ගත වේ. දේපළ පිළිබඳ ප්‍රශ්නයක්ද ඒ තුළ දැඩිව ඇති බැවිනි. පතිරණ, ඉස්මයිල් සහ ගුණසේකර විනිසුරු තුමන්ලා කීවේ,

(1) අවුරුදු 3 ක කාල සීමාව නිසා කාලාවරෝධී අවුරුදු දහයක කාලය බල පවත්නා බව
(2) පැමිණිලිකරුගේ නඩු නිමිත්ත උදාවූයේ, 59.04.16 වන දින, එනම් පඤ්ඤාලංකාර හිමිගේ (ගුරු නම) මරණය වූ අතර, නඩුව පවරා ඇත්තේ, 1965.10.15 දින දීය. පැමිණිලිකරුගේ ඉල්ලීම කාලාවරෝධී පණතේ විධි විධානවලින් වැසී ඇති බව ය.

තිත්තවෙල විනිසුරුතුමා කීවේ, "කිසිම විටක මෙවැනි නඩුවක් කාලාවරෝධී නීතියෙන් අවහිර කළ නොහැක. නිශ්චල, චංචල දේපළවල හිමිකම ඒ සමග ඈඳී ඇත. 1931 පණතේ 34 වගන්තිය පැහැදිලිය. තනතුරක් සඳහාම වෙතත්, ඒ තුළ ගැට ගැසුණු දේපළ ප්‍රශ්නය ඇත. කාලාවරෝධය එබැවින් බල නොපවත්වයි." යනුවෙනි.

තවදුරටත් මුළු විනිසුරු මඩුල්ල අතහැරීම් ගැන මත ප්‍රකාශ කළේ එකඟ වෙමිනි. "විහාරාධිපතිත්වය පැවරිය නොහැකි, ශිෂ්‍යානු ශිෂ්‍ය පරම්පරා රීතියට අනුව, තම ජීවිත කාලය තුළ ඒ තනතුර දරයි. ඊළඟට නීතියට අනුව, ජ්‍යෙෂ්ඨත්වය අනුව ඊළඟ අයට හෝ තමන් කැමති ගෝල නමකට දිය හැකිය.

නඩුව පවත්වා ගෙන යද්දී, පණතේ 4(1) පරිදි ඇතුළත්ව ඇති පන්සල, නඩුවේ කාලය තුළ එසේම භුක්තිය වගඋත්තරකරුට දිය නොහැක්කේ, 4(1) යටතට පත් වූ බැවිනි. එසේ වුවද, නීත්‍යානුකූල විහාරාධිපති භාරකරු ලෙස පත් කර ගත හැකිය. ඒ අයිතිය මත දේපළවල භුක්තිය ලබා ගත හැකිය.

මෙහිදී, තවත් අදහසක් ඉදිරිපත් කළ හැකිය. එය තීන්දුවේ නැත. එවැනි ප්‍රශ්නයක් නොතිබුණත්, තනතුරක්, තත්‍වයක් (status) ඉල්ලූවිට, එහි නීතිමය ප්‍රතිඵලය කෙබඳු දැයි වැදගත් ප්‍රශ්නයක් පැන නගී.

සිවිල් විධාන සංග්‍රහයේ 217 වන වගන්තිය පරිදි සහ එහි 'උ' (G) උපවගන්තිය පරිදි, අයිතියක් හෝ තත්‍වයක් (Right or Status) ඉල්ලමින් සිටිද්දී, අධිකරණයට තීන්දු ප්‍රකාශයක් හෝ නියෝගයක් මගින් එවැන්නක් දිය හැකිය. එසේනම් විහාරාධිපති කෙනෙකු, විනිශ්චිත තීන්දු ගැන බැලීමේදී, හුදෙක් විහාරාධිපතිත්‍වය පමණක් ලබා ගැනීමට නඩු පවරන්නේ නැත. පන්සලේ හා භාණ්ඩ, දේපළවල භුක්තිය, නෙරපීමේ නියෝග ආදිය ඒ තුළ ඇත. එවිට තනතුර හෝ තත්‍වයට වඩා, වෙනත් සංකීර්ණ ප්‍රශ්න ඇත.

කාලාවරෝධය පිළිබඳ ගැටලු සහගත තත්‍වය පහව ඇතත්, ඉතා පැහැදිලි ලෙස පණතේ 34 වන වගන්තිය කාලාවරෝධය ගැන මෙසේ කියයි. "කවර හෝ පන්සලක චංචල හෝ නිශ්චල දේපළ ආපසු ලබා ගැනීම සඳහා නඩු පැවරූ විට, හෝ ඒ දේපළවල අයිතිය තහවුරු කර ගැනීමට ඉල්ලද්දී කාලාවරෝධී පණතේ කිසිම විධි විධානයක් මගින් ඒ ඉල්ලීමට බාධාවක් නො වන්නේය."

එබැවින් තනතුර හෝ තත්‍වයට අමතරව ඉල්ලීම් තිබීම, ප්‍රායෝගිකව සාධාරණය එහිදී, මේ 34 වගන්තිය කියන පරිදි දේපළ ආදිය පිළිබඳව මිස, තනතුර හෝ තත්‍වය පිළිබඳව නිහඬය. නමුත් තත්‍වයෙන් තොරව, දේපළ ලබා ගත නොහැක. දේපළ සහ තත්‍වය එකට යා වූ බැවිනි.

පණතේ 34 වගන්තිය ආශ්‍රිතව ප්‍රකාශිත තීන්දු අතර, 29 න.නී.වා 216, 15 න.නී.වා 237 සහ 1981-1 වෙලුම එස්.එල්.ආර්.201 ද දක්වයි. පණතෙහි 20 සහ 23 වගන්ති තවදුරටත් විමසීමේදී පෙනී යන කරුණ වනුයේ, පුද්ගලික දේපළ සහ උරුමයෙන් ලත් දේපළ හැරෙන්නට යැයි ඇති විධානය අතර පරතරයයි. පුද්ගලික දේපළවලට මිල මුදල්, බැංකු

ගිණුම්, රක්‍ෂණ ඔප්පු, යාන වාහන වැනි චංචල දේපළ අයත් වන විට, උරුමයෙන් ලද දේපළ කවරේදැයි ප්‍රශ්නයක් පැන නගී.

ගිහිගෙය අතහැර යන තැනැත්තෙකු සතු වන්නේ පන්සල සහ එහි ගත කිරීමට වෙන් කැරෙන ප්‍රදේශයයි. සිවුරු, හැරෙන්නට අන් දෙයක් සතු වේනම් ඒ පුද්ගලිකව උපයන දේපළයි. පන්සල සතු දේපළ අයිතිය සංඝයාටය. පාලනය විහාරාධිපති සහ භාරකරු අතර පවතී. අනුප්‍රාප්තිය ශිෂ්‍යානුශිෂ්‍ය පරම්පරා රීතිය අනුව ජ්‍යෙෂ්ඨ භික්ෂු නමට ය. ඔහු අතහැර පත් කිරීම් කැරෙන අවස්ථා ඇති බැවින්, නඩුහබ අනුප්‍රාප්තිකයින් අතර ඇතිවේ.

ගිහි සැප අතහැර යෑමෙන්, ගිහි සමාජය අත හැර යාමක් සිදු නොවේ. පන්සලක භික්ෂූන් යැපෙන්නේ ගිහි සමාජයෙනි. ගිහියන් සමග සමීප සබඳතා පැවැත්වේ. පන්සල නඩත්තු කරනු ලබන්නේ ගිහියන් විසිනි.

බුදුන් වහන්සේ, බුද්ධත්වයෙන් පසුව, පිය රජ, යශෝදරා, රාහුල වැනි ලේ ඥාතීන් අතහළේ නැත. වැඩියෙන්ම ධර්මය දේශනා කළේ ගිහි සමාජයට ය. පැවිදි වුවත් ජීවත් වූ ගිහි සමාජයෙන් ගැලවී යන්නේ නැත. වනවාසී, භාවනානුයෝගී වුවද, පෝෂණය වන්නේ ගිහියන්ගෙනි.

ශ්‍රී ලංකාවේ නීති ක්‍රම කිහිපයක් ක්‍රියාත්මක වන අතර, කෙනෙකු පවුලකින් වෙන් ව, ශාසනයට භික්ෂුවක් ලෙස ඇතුල් වූ පසු, ඒ පවුල සතු දේපළවල අයිතියට කොතෙක් දුරට හිමි කම් තිබේදැයි ප්‍රශ්නයක් නැගිය හැකිය.

උඩරට නීතිය අනුව, බෙදුම් නඩුවකදී භික්ෂුවකට පිය පාර්ශවයෙන් හෝ මව් පාර්ශවයෙන් දේපළවලට හිමිකම් ලැබෙන ආකාරය සහ, සිවුරු හැර ගිය විට ඇතිවන තත්වයද තීන්දුවලින් පැහැදිලි කොට ඇත.

එසේම, ඉඩම් සංවර්ධන පණතේ 56, 33 සහ 170 ද බෞද්ධ දේවාලගම් පණතේ 20 හා 23 වගන්ති සමග ගැලපෙන ආකාරයටද, රජය සතු දේපළක් රජයේ බලපත්‍රයක් යටතේ සද්ධානන්ද තෙරුන්ට දෙන ලදී. එම නීතියේ 56 වන වගන්තිය යටතේ, තම මවට පසු අයිතිය දෙන ලදී. මුලින්ම මවද, පසුව ඉඩම් ලාභියාද මියගිය අතර, පසු අයිතිය පැවරීමක් සිදුව නොතිබුණි. ඒ අනුව මියගිය භික්ෂුවගේ ගිහි සහෝදරයා සහ පන්සලේ විහාරාධිපති අතර, ඉඩම පිළිබඳ ආරාවුලක් ඇතිවුණි.

මෙය පන්සල සතු ඉඩමකැයි විහාරාධිපති කී අතර, සහෝදරයා කීවේ, මෙය සාංඝික දේපළක් නොවන බවයි. බලපත්‍ර ලාභියාට පූර්ණ හිමිකම් නැත. එසේ නම් වෙනත් ආකාරය හිමිකම්ද තිබිය නොහැක. 23 වගන්තිය පරිදි පැවරීමක් සිදු නොවීය. ඒ අනුව පැමිණිලිකාර අභියාචකගේ වාසියට නඩුව තීන්දු විය.

ඉඩම් ප්‍රතිසංස්කරණ කොමිසම හා භික්ෂුවක් අතර වූ නඩුවක් (සංසරකඛිත) (1987) 2 එස්.එල්.ආර් 411 පිටුවේ ඇත. මේ නඩුව මීට පෙර දක්වා ඇති අතර, බඳු ගිවිසුමක් මත සමාගමකට දෙන ලද ඉඩම්, උපරිම සීමා නීතිය යටතේ හිමිකම කාට ලැබේද යන ප්‍රශ්නය පැනනැගුණි. ඉඩම් ප්‍රතිසංස්කරණ පණතේ 66 ආ - ඉ දක්වා වූ අත් හැරීමේ ප්‍රතිපාදන මගින්, එසේ සිදුවන බවද, කෘෂි කාර්මික ඉඩම් යනුවෙන් 66 වගන්තිය යටතේ දැක්වෙන ඉඩම්, භාරයක් හැටියට ඇති ඉඩම් අයත් නොවන බවද එහිදී තීන්දු විය.

නැවත, නන්දතිස්ස තෙරුන් එරෙහිව ජාත්‍යන්තර බෞද්ධ මධ්‍යස්ථානය (1994) 3 එස්.එල්.ආර්. 76 නඩුවේදී, 1931 පණත, භාරය, පුණ්‍ය භාරය, අනුමිත භාරය, පුණ්‍ය කටයුත්ත, සාංඝික දේපළ, භාරයක් ඇති කිරීම අවශ්‍ය කරුණු, හා භාර රාජාඥාවද සැලකිල්ලට ගෙන මේ තීන්දුව ප්‍රකාශ කොට තිබේ. 1954 සිට 1965 දක්වා සංගමයක් මිස භාරයක් ලෙස කටයුතු නොකොට තිබුණි. ඒ අනුව සාංඝික දේපළ ලෙස තීන්දු විය.

මේ අනුව, තම ප්‍රයෝජනය සඳහාම පමණක් පුද්ගලික භික්ෂුවක් අත්පත් කර ගන්නාවූ භික්ෂුවකට උරුමයෙන් ලැබෙන දේපළ තබා ගත හැකි බැව් පැහැදිලිය. උරුම නීතිය මෙහිදී ගිහි ජීවිතය, පවුල, අනෙක් පාර්ශවයන් සමග ඇති කරගත් බැඳීම්, ගිවිසුම් මත රැඳෙයි.

වෙනත් වචනවලින් කියතොත්, භික්ෂුවකට උරුමයෙන් ලැබෙන දේපළවල අයිතිය, භික්ෂු බව නිසා අහෝසි නොවේ. 72 න.නී.වා 367 පිටුවේ තීන්දුවට ද අනුව, උරුමයෙන් ලද දේ පන්සලට අයත් නොවේ. අනෙක් අතට ඒවා කිසිවෙකුට නොපවරා සිටීමේ අයිතියද ඇත. එසේ නම්, භික්ෂුවක් වූ පමණින් දේපළ පිළිබඳව බලද්දී, ඉඩ කඩම් වැනි උරුම වන දේපළවලින් ගැලවීමට භික්ෂුවකට නොහැකි බවත්, තම ජීවිත කාලය තුළ, අන්සතු නොකළ හොත්, පන්සලට හිමිවීමේ ප්‍රවණතාව බල නොපවත්වන බවත්, ඊළඟ උරුමක්කරුවන්ට ඒ දේපළ හිමි වන බවත් පැහැදිලි ය. කෙසේ වෙතත්, ඒවා පන්සල සතු වන්නේ නම් නැත.

පන්සල, විහාරාධිපතිත්වය ආදිය අතහැර ගියත්, උරුම වූ දේපළ අහිමි නොවේ. අහිමි කිරීමේ හෝ අන්සතු කිරීමේ අයිතිය ඇත්තේ උරුමය ලබන භික්ෂුවටමය.

අනෙක 23 වගන්තිය සර්ව සම්පූර්ණ නීති තත්ත්වයක් ඇති නොකරයි. එහි ඇත්තේ "සැලකිය හැකිය" ආදී ලෙස අර්ථ ගැන්විය හැකි (deemed) යන වචනයයි. මෙය පූර්ව නිගමනයක්ද නොවේ. එසේ නොවේ යැයි තර්ක කිරීමේ ඉඩකඩ බෙහෙවින් ඇත.

පණතේ 26 වන වගන්තිය පිළිබඳව කෙටියෙන් කරුණු දැක්වූ අතර 29 වන වගන්තිය පරිදි, විහාරාධිපතිට හෝ භාරකරුට දේපළ උගස් කිරීමේ දී ක්‍රියාත්මක වන නීති තත්ත්වය පැහැදිලි විය යුතුය. **(1987)1 SLR 151, 68 න.නී.වා. 286**

10(1) වගන්තියට අනුව, 4(1) යටතේ ඉවත් නොකරන ලද සියලු පන්සල්වල, වෙනත් විධි විධාන නොමැති විට, භාරකරු පත් කරනු ලැබිය යුතු වන්නේ විහාරාධිපති විසිනි. ඒ බව මහා භාරකරුට ද වහාම දැන්විය යුතුය. 14 වන වගන්තියෙන්, භාරකරුවකුගේ සුදුසුකම් කියැවෙයි. ඊළඟට භාරකරු හෝ පාලක විහාරාධිපති කෙනෙකු ගැන කියැවෙයි.

29 වගන්තියද භාරකරු හෝ, පාලක විහාරාධිපති ලෙස හඳුන්වන "පාලක තනතුර" 2 වැනි වගන්තියේ අර්ථ නිරූපණයෙහි නැත. **29 න.නී.වා 216**

බොහෝ නඩුහබවලදී, විහාරාධිපතීත්වයට අමතරව, දේපළ පිළබඳ ප්‍රශ්නවලදී, මේ පන්සල් ඉඩ කඩම් බදු දීම ගැන අර්බුදකාරී තත්ත්වයන් උද්ගත වෙයි. වගන්තිය ආරම්භ වන්නේද, එම ක්‍රියාවන් "නිත්‍යානුකූල වන්නේය" යන අරුත්වලට වඩා මෙහි අරුත් පළල්ය. නමුත් ඒ පිළිබඳව සීමාවක් ගැබ්වුරින් ඇත.

පන්සල සතු සියලු දේපළ හෝ සමහරක්, සාධාරණ යැයි හැඟෙන පරිදි වරින් වර එසේ හැඟෙන බද්දකට දීම නිත්‍යානුකූල වන්නේය. කොන්දේසි සහ බදු මුදල සාධාරණ විය යුතුය. නමුත්, රුපියල් පන්සියයකට නොවැඩි වූ, එක් අවුරුද්දකට වැඩි වූ බද්දක් දිය නොහැකි අතර, මුළු ඉඩම් ප්‍රමාණය අක්කර පහකට නොවැඩි විය යුතුය. එනම්,

